# 1 ඉශ්‍රායෙල් දිවැසිවරු

කන්නාඩියක් සූර්ය ආලෝකයට අල්ලා අවශ්‍ය තැනට එම ආලෝකය පරාවර්තනය කිරීමේ හැකියාව ඇත. ඒ අනුව, කන්නාඩියෙන් පරාවර්තනය කරන්නේ කන්නාඩියට පතිත වන ආලෝක කිරණ වේ. කන්නාඩියක් කරන කාර්යය කළ පුද්ගල කණ්ඩායමක් පුරාණ ගිවිසුම තුළ ඇත. ඒ අය නම් "ඉශ්‍රායෙල් දිවැසිවරුන්" ය. දෙවියන් වහන්සේගේ පණිවුඩය ඔවුන් කරා පැමිණි විට ඔවුහු එය ඉශ්‍රායෙල් ජනතාවට ප්‍රකාශ කළහ. පහත පින්තූරයෙන් එය පිළිඹිබු කෙරේ.



1.1 රූපය - දිවැසිවර කැඳවීම

දිවැසිවරයා හෙබ්‍රෙව් බසින් "නබී" ලෙසත් ග්‍රීක බසින් "ප්‍රොෆෙටෙස්" ලෙසත් හැඳින්වෙයි. එහි අර්ථය වන්නේ, "දෙවියන් වහන්සේ වෙනුවෙන් කථා කරන තැනැත්තා" යන්න යි.



පුරාණ ගිවිසුමේ දිවැසිවරුන් ප්‍රධාන කොටස් 2කි.

1. දේශක දිවැසිවරුः මෙම දිවැසිවරුන්ගේ නමින් පුරාණ ගිවිසුමේ ග්‍රන්ථ නොමැත. සාමුවෙල් හා රාජාවලිය ග්‍රන්ථවල ඔවුන් පිළිබඳ තොරතුරු සඳහන් වේ. නාතාන්, එලියා හා එලීෂා යන අය දේශක දිවැසිවරු වෙති.

2. ලේඛක දිවැසිවරුः මෙම දිවැසිවරුන්ගේ නමින් ග්‍රන්ථ, පුරාණ ගිවිසුමේ ඇත. මෙම දිවැසිවරුන් කොටස් 2කි.
   i. ප්‍රධාන දිවැසිවරු
   ii. සුළු දිවැසිවරු

i. ප්‍රධාන දිවැසිවරුः

- ★ යෙසායා
- ★ ජෙරමියා
- ★ එසකියෙල්

ii. සුළු දිවැසිවරු 12කිः

- ★ හොසියා
- ★ ජෝවෙල්
- ★ ආමොස්
- ★ ඔබදියා
- ★ ජෝනා
- ★ මීකා
- ★ නාහුම්
- ★ හබක්කුක්
- ★ ශෙපනියා
- ★ හග්ගයි
- ★ සෙකරියා
- ★ මලාකි

දෙවියන් වහන්සේ වෙනුවෙන් කතා කරන දිවැසිවරයා දෙවියන් වහන්සේගේ හඬට පළමුව සවන් දිය යුතු වේ. දේව ජනතාවට කිව යුතු පණිවුඩය හරියාකාර ව අවබෝධ කර ගැනීමට නම් දේව හඬට නිරතුරු විවෘත විය යුතු ය.

වර්තමාන සමාජයේ දේව හඬ අප වෙත පැමිණෙන ප්‍රබල ම මාධ්‍යය දේව වචනය යි. එලෙස ම දේව හඬ හඳුනා ගැනීමට අපට විවිධ අය ද සහාය වෙති. ඒ අතර පූජක, පැවිදි උතුමන්ලා, දෙමාපිය හා ගුරුභවත්හු සුවිශේෂී වෙති. තව ද කාලයේ සලකුණු දේව හඬ සෙවීමට අපට උපකාරී වේ.

දිවැසිවරයා, දෙවියන් වහන්සේ වෙනුවෙන් කතා කරන තැනැත්තකු බැවින්, තමන්ට අවශ්‍ය දේ නොව දෙවියන් වහන්සේට අවශ්‍ය දේ ජනතාවට ප්‍රකාශ කිරීමේ වගකීමෙන් ඔහු බැඳී සිටියි. එනම්, දේව සැලැස්ම ජනතාව වෙතට රැගෙන යාමට දිවැසිවරයා කැඳවීම ලබයි. (ජෙරමියා 1:4-10)

අප සියලු දෙනා ම ප්‍රසාද ස්නාපනය ලැබ ශුද්ධ වූ සභාව තුළ දිවැසිවරුන් ලෙස ආලේප කර ඇත. මෙම කැඳවීමට සාක්ෂි දැරීම ඉතා දුෂ්කර ක්‍රියාවකි. එනමුත් අපි දෙවියන් වහන්සේගේ බලයෙන් ශක්තිමත් වී ක්‍රියාත්මක විය යුතු වෙමු. ඒ අනුව පහත වගකීම් අපට පැවරෙයි:-

- ★ සත්‍යවාදී ව කටයුතු කිරීම
- ★ වැරදි මාර්ගවලට ඇදී යන පුද්ගලයන් ව නිවැරදි මාර්ගයට ගැනීම
- ★ සත්‍යය වසන් කරන අයට අභියෝග කිරීම
- ★ නිවැරදි දේ කිරීමට අන් අයට මඟ පෙන්වීම
- ★ ශුද්ධ බයිබලයෙහි ඇති පණිවුඩ අන් අයට ප්‍රකාශ කිරීම.

යුගයේ දිවැසිවරුන් වී දෙවියන් වහන්සේගේ සැලැස්ම අද සමාජය තුළ යථාර්ථයක් කරන්නට කැප විය යුතු වෙමු. මඟපෙන්වීමෙන්, නිවැරදි කිරීමෙන්, අභියෝග කිරීමෙන් හා ජීවිත සාක්ෂියෙන් සැබෑ දිවැසිවරු වෙමු.

**ක්‍රියාකාරකම**

1. "දිවැසිවරයා" යන්න නිර්වචනය කරන්න.
2. දිවැසිවර වර්ගීකරණය ලියා දක්වන්න.
3. දිවැසිවරයකු ලෙස ඔබට කළ හැකි කාර්යයන් **තුනක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

***ඔබේ වචනයෙන්, ක්‍රියාවෙන් හා ආදර්ශයෙන් යුගයේ දිවැසිවරයකු වන්න.***

# 2 දේශක දිවැසිවරු

සත්‍යයට සාක්ෂි දරමින් දෙවියන් වහන්සේ වෙනුවෙන් කතා කළ පුද්ගලයෝ පැරණි ගිවිසුමේ වූහ. ඔවුන් දිවැසිවරු ලෙස හැඳින්වේ. දේශක දිවැසිවරු එම කාර්යය මැනවින් ඉටු කළහ. මෙම දේශක දිවැසිවරුන් තිදෙනෙක් පිළිබඳ ව අපගේ අවධානය යොමු කරමු.

1. නාතාන් දිවැසිවරයා
2. එලියා දිවැසිවරයා
3. එලිෂා දිවැසිවරයා

## නාතාන් දිවැසිවරයා



2.1 රූපය - නාතාන් දිවැසිවරයා

දාවිත් රජතුමා උරියාගේ බිරිඳ වූ බැත්-ෂෙබා සමග නොමනා ලෙස හැසුරුණේ ය. දාවිත් රජතුමාට නාතාන් දිවැසිවරයා උපමාවක් මගින් කතා කරමින් ඔහුගේ වරද පහදා දුන්නේ ය. නාතාන් දිවැසිවරයාගේ මෙම ක්‍රියාව නිසා දාවිත් රජතුමා තම වරද වටහාගෙන මනස්තාප විය. (2 සාමුවෙල් 12:1-15)

නාතාන් දිවැසිවරයා උපක්‍රමශීලි ව දාවිත් රජතුමා කළ වරද පෙන්වා දෙමින් ඔහු ව යහමගට ගත්තේ ය. සිසු දරුවන් වන අප ද කෙනෙක් වරදක් කරන අවස්ථාවේ දී ඔහුගේ හෝ ඇයගේ සිත නොරිදවා එය පහදා දී ඔහු හෝ ඇය යහමගට ගත යුතු ය.

## එලියා දිවැසිවරයා



2.2 රූපය - එලියා දිවැසිවරයා

එක්තරා නියඟයක දී එලියා දිවැසිවරයා කෙරිත් ඔය ළඟ වාසය කළේ ය. කපුටෝ ඔහුට මස් හා රොටි ගෙනැවිත් දුන්නෝ ය. අනතුරු ව ඔහු ශාරෙපත් නගරයෙහි ජීවත් වූ වැන්දඹුවගේ නිවසට ගියේ ය. ඇයගේ නිවසේ තිබුණේ පිටි මිටක් හා තෙල් මිටක් පමණි. එහෙත් නියඟය නිම වන තුරු එම පිටි ටික හා තෙල් ටික අවසන් නොවී ය. (1 රාජාවලිය 17:1-16)

අප අසරණ වන අවස්ථාවල දෙවියන් වහන්සේගේ ආශිර්වාදය තුළ විවිධ වරප්‍රසාද ලබා අපගේ ජීවිතය සුරක්ෂිත වීම "දිව්‍ය සංරක්ෂණය" යනුවෙන් හැඳින්වේ. ඒ අනුව එලියා දිවැසිවරයා නියඟයේ දී දිව්‍ය සංරක්ෂණය අත්දුටුවේ ය.

## කාර්මෙල් කන්ද මත පූජාව



2.3 රූපය - කාර්මෙල් කන්ද මත පූජාව

කාර්මෙල් කන්ද මත එලියා දිවැසිවරයා හා බාල් දෙවියන්ගේ දිවැසිවරු යාග දෙකක් සූදානම් කළහ. සැබෑ දෙවියන් වහන්සේ ගින්නක් එවා යාගය දැවීමෙන් යාගය බාර ගන්නා බවට පිළිගැනිණි. බාල් දෙවියන්ගේ දිවැසිවරු යාච්ඤා කළත් ඔවුන්ගේ යාගය ගින්නෙන් නොදැවිණි. එලියා දිවැසිවරයා යාගයට ජලය වත්කොට යාච්ඤා කළත් එය දැවී ගියේ ය. එයින් සැබෑ දෙවියන් කවුරුන්දැයි ඔප්පු විණි. (1 රාජාවලිය 18:21-39)

කාර්මෙල් කන්ද මත කළ දවන පූජාව අවසාන වීමත් සමග ම නියඟය නිම වී වැස්ස වහින්නට පටන් ගත්තේ ය. දෙවියන් වහන්සේ තමන් වහන්සේ කෙරෙහි විශ්වාසය තබන අය ආරක්ෂා කරන සේක. එමෙන් ම ඔවුන්ගේ අවශ්‍යතාවල දී සහාය වන සේක. එබැවින් අප ද එදිනෙදා ජීවිතය තුළ දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසය තබා දිව්‍ය සංරක්ෂණය පතා යාච්ඤා කළ යුතු ය.

## එලිෂා දිවැසිවරයා



2.4 රූපය - එලිෂා දිවැසිවරයා

ගවයන් දොළොස් බානක් පිටුපස හාමින් සිටි එලිෂා ළඟට එලියා දිවැසිවරයා ගොස් සිය සළුව ඔහු පිට හෙළා ඔහු කැඳවී ය. එලිෂා එලියා අනුව යමින් දිවැසිවරයකු ලෙස සේවය කළේ ය. (1 රාජාවලිය 19:19-21)

## නාමන්ගේ කුෂ්ඨය සුව කිරීම





2.5 රූපය - කුෂ්ඨය සුව කිරීම

සිරියාවේ රජතුමාගේ සෙන්පතියා වූ නාමන්ගේ කුෂ්ඨය එලිෂා දිවැසිවරයා සුව කළේ ය. එසේ කළේ මුළු පොළොවේ වෙන දෙවි කෙනෙක් නැති බව ඔහුට පහදා දීමට ය. එමෙන් ම නාමන් සෙන්පතියාගේ උඩඟුකම ද තුරන් කළේ ය. (2 රාජාවලිය 5:1-19)

යාච්ඤා කිරීම තුළින් අපට සුවය අත්දැකිය හැකි ය. යාච්ඤාව අපේ ජීවිතයට බලවත් ශක්තියකි. යාච්ඤාවෙන් තොර ජීවිතය සාර්ථක නොවේ. එමෙන් ම එක ම දෙවියන් වහන්සේට පමණක් වන්දනාමාන කළ යුතු ය. දස පනතේ පළමුවන පනත අනුසාර කිරීම අපේ වගකීම යි.

**ක්‍රියාකාරකම**

1. 2 සාමුවෙල් 12:1-7 කියවා එහි ඇති උපමාව ලියන්න.
2. ඔබ දිව්‍ය සංරක්ෂණය අත්දුටු අවස්ථාවක් ලියන්න.



**ජීවිතයට බිඳක්**

*තැනට සුදුසු ආකාරයෙන් ක්‍රියා කරන්න.*

# 3 ප්‍රධාන දිවැසිවරු

ලේඛක දිවැසිවරුන් කොටස් දෙකකට බෙදන බව පළමු පාඩමේ දී ඉගෙනගත් බව ඔබට මතක ය. එනම්, ප්‍රධාන සහ සුළු දිවැසිවරු වශයෙනි. මෙම පාඩමෙන් ප්‍රධාන දිවැසිවරුන් තිදෙනා පිළිබඳ ව ඔබට ඉගෙනගත හැකි ය. ඔවුන් නම්,

1. යෙසායා
2. ජෙරමියා
3. එසකියෙල්

## යෙසායා දිවැසිවරයා



3.1 රූපය - යෙසායා දිවැසිවරයා

යෙසායා දිවැසිවරයාගේ නමෙහි අර්ථය "දෙවියන් වහන්සේ ගලවන සේක" යන්න යි. එතුමන් ජීවත් වූයේ ක්‍රි.පූ. 8 වන සියවසේ දී ය. යෙසායා දිවැසිවරයාගේ පියා ආමොස් නමැත්තා ය.

## ජෙරමියා දිවැසිවරයා



3.2 රූපය - ජෙරමියා දිවැසිවරයා

ජෙරමියා දිවැසිවරයාගේ නාමේ අර්ථය "දෙවියන් වහන්සේ උසස් කළ සේක" යන්න ය. එතුමා ජීවත් වූ කාලය ක්‍රි.පූ. 7-6 වන සියවස්වල ය. ජෙරමියා දිවැසිවරායාගේ පියා හිල්කියා නම් වූ පූජකයා ය.

## එසකියෙල් දිවැසිවරයා



3.3 රූපය - එසකියෙල් දිවැසිවරයා

එසකියෙල් දිවැසිවරයාගේ නමෙහි අර්ථය "දෙවියන් වහන්සේ ශක්තිමත් කරන සේක"යන්න ය. එතුමන් ජීවත් වූ කාලය ක්‍රි.පූ. 6වන සියවස වූ අතර පියාගේ නම බුසී ය. ඔහු බබිලෝනියේ සිට ඉශ්‍රායෙල් ජනතාවට දෙවියන් වහන්සේගේ පණිවිඩය ප්‍රකාශ කළේ ය.

## යෙසායා දිවැසිවරයාගේ කැඳවීම (යෙසායා 6:1-8)

දෙවියන් වහන්සේ උස් වූ උදාර වූ සිංහාසනයක් මත වැඩ සිටි සේක. උන් වහන්සේගේ සළුවෙන් දේව මාලිගාව පිරී තිබුණේ ය. සෙරාප්වරු (දේව දූතයෝ) උන් වහන්සේ සිසාරා සිටියෝ ය. ඔවුනට පියාපත් හය බැගින් තිබිණි. සෙරාප්වරු පියාපත් දෙකකින් තම මුහුණ වසා ගත්තෝ ය. දෙකකින් ඇඟ වසා ගත්තෝ ය. දෙකකින් පියාසර කළෝ ය. එමෙන් ම ඔවුන්ගෙන් එක් කෙනෙක් අනෙකාට හඬ ගසමින් දෙවියන් වහන්සේගේ සුවිශුද්ධ බව මොර ගසා කීවේ ය. එම මොර ගැසීමට දේව මාලිගාවේ අත්තිවාරම සෙළවිණි. එලෙස ම දේව මාලිගාව ද දුමෙන් පිරුණි. යෙසායා දිවැසිවරයා මොර ගසා තමන් අපවිත්‍ර තොල් ඇති මිනිසකු බවත් අපවිත්‍ර තොල් ඇති සෙනඟක් අතර ජීවත් වන බවත් පැවසී ය. එයින් අදහස් කළේ ඔහු පව්කාරයෙකු බව ය. සෙරාප්වරුන්ගෙන් එක් කෙනෙක් පූජාසනය මත්තෙන් ගිනි අඟුරක් අඬුවකින් ගෙන, යෙසායා දිවැසිවරයා වෙත පියාසර කර පැමිණ, එය ඔහුගේ තොල්වල තැවරුවේ ය. ඒ මගින් යෙසායා දිවැසිවරයාගේ පව් කමා කරන ලද බව දන්වී ය. එකෙනෙහිම "මම කවරකු යවම් ද? අප වෙනුවෙන් යන්නේ කවරෙක් ද?" යන දේව හඬ යෙසායා දිවැසිවරයාට ඇසිණි. "මෙන්න මම මෙහි ය, මා යැව්ව මැනව"යි යෙසායා දිවැසිවරයා කීවේ ය.

මේ ලෙසින් යෙසායා දිවැසිවරයා දෙවියන් වහන්සේගේ පණිවුඩය ඉශ්‍රායෙල්වරුන්ට රැගෙන යාමට කැඳවීමක් ලැබී ය.

යෙසායා දිවැසිවරයාගේ කැඳවීම අනුව දේවස්ථානය දෙවියන් වහන්සේ වැඩ සිටින පරිශුද්ධ මාලිගාව බව පැහැදිලි ය. එබැවින් දේවස්ථානයේ පූජනීය බව ආරක්ෂා කළ යුතු ය. එමෙන් ම දේවස්ථානය තුළ සේවයේ නිරත වන විට දේවස්ථානයේ ගරුත්වය ආරක්ෂා වන පරිදි කටයුතු කළ යුතු ය. එම නිසා;

- දේවස්ථානයට ඇතුළු වන විට දෙදණ නමා, හිස පහත් කර, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට නමස්කාර කළ යුතු ය.
- දේවස්ථානය තුළ ඔබ මොබ දුව පැන ඇවිදීම නොකළ යුතු ය.
- දේවස්ථානය තුළ සිටින විට කෑ ගැසීම, කථා කිරීම නොකළ යුතු ය.
- දේවස්ථානය තුළ ආහාර පාන නොගත යුතු ය.
- පිරිසිදු ව දේවස්ථානයට පැමිණිය යුතු ය.

දිවැසිවරුන් ලද දේව පණිවුඩය ප්‍රකාශ කිරීමේ දී නායකත්වය ගෙන කටයුතු කිරීමට දිවැසිවරුන්ට සිදු විය. අද එම කාර්යය පැවරී ඇත්තේ ප්‍රසාද ස්නාපනය ලද කිතුනු ඔබට ය. එබැවින් නායකත්වය ගෙන කටයුතු කිරීමේ දී අප තුළ නායකත්ව ගුණාංග ගොඩනගා ගත යුතු ය. ඒවා නම්:

- ආධ්‍යාත්මික ගුණයෙහි වර්ධනය වීම
- අභියෝගවලට මුහුණදීම
- වගකීම් භාර ගැනීම
- සාමූහික ව වැඩ කිරීම
- ජේසුස් වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරීම
- සේවා දිවියකට කැපවීම යනාදිය යි.

**ක්‍රියාකාරකම**

1. ප්‍රධාන දිවැසිවරුන් තිදෙනා නම්කර, ඔවුන්ගේ නම්වල අර්ථ, ජීවත් වූ කාලය හා පියවරුන්ගේ නම් වගුගත කරන්න.
2. දේවස්ථානයේ ගරුත්වය ආරක්ෂා කිරීමට ඔබට කළ හැකි කාර්යයන් **පහක්** ලියන්න.
3. නායකත්වයේ ලක්ෂණ **පහක්** ලියන්න.
4. ඔබේ මීසම තුළ ඔබට සේවය කළ හැකි ආකාර **පහක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

***වගකීම් භාරගෙන කටයුතු කරන්න.***

# 4 සුළු දිවැසිවරු




4.1 රූපය - සුළු දිවැසිවරු

මෙම පින්තූරයෙහි ඔබ දකින්නේ සුළු දිවැසිවරුන් කිහිප දෙනෙකි. දෙවියන් වහන්සේගේ පණිවුඩය ජනතාව වෙත ගෙන යාම, ඔවුන්ගේ වගකීම විය. ඒ අනුව සමාජය තුළ පවතින අසාධාරණය, දූෂිත පාලනය, සදාචාරයට පටහැනි ක්‍රියා, ජනතාවගේ පාපිෂ්ඨ දිවි පෙවත නිසා සිදු වන්නට නියමිත විනාශය, සැබෑ මනස්තාපයක අවශ්‍යතාව, ගිවිසුම තුළ දෙවියන් වහන්සේ හා ඒකාබද්ධ වීමේ අවශ්‍යතාව, ධර්මිෂ්ඨ ජීවිතයක වැදගත්කම යනාදිය ඔව්හු ජනතාවට පෙන්වා දුන්හ. මේ දිවැසිවරු ඉතිහාසයේ විවිධ වකවානු තුළ

වැරදි මග යමින් සිටි ඉශ්‍රායෙල් ජනතාවට දෙවි සමිඳාණන් වහන්සේ වෙත හැරෙමින් හරි මග යාමට මග පෙන්වූහ.

### ආමොස් දිවැසිවරයා



4.2 රූපය - ආමෝස් දිවැසිවරයා

මෙතුමා ක්‍රි.පූ. 8 වන සියවසේ ඉශ්‍රායෙලයේ ජීවත් වූ දිවැසිවරයෙකි. එතුමන්ගේ ගම වූයේ ජුදෙයාවේ තෙකෝවා ය. එතුමා එඬේරෙක් මෙන් ම අත්තික්කා වගා කළ ගොවියෙක් විය. ආමෝස් දිවැසිවරයා ජීවත් වූ කාලවකවානුවේ දී ඉශ්‍රායෙල් දේශය අයුක්තිය, අසාධාරණය හා වංකකමින් පිරී තිබිණි. ජනතාව පීඩාවට පත්කරමින් තලාපෙළා අසාධාරණ ලෙස මුදල් හම්බ කළහ. මෙවන් කාලවකවානුවක දිවැසිවර කැඳවීම ලත් ආමෝස් සර්ව සාධාරණ යුක්තිසහගත දෙවියන් වහන්සේ අසාධාරණ ක්‍රියා පිළිකුල් කරනා බව නොබිය ව ප්‍රකාශ කළේ ය. එබැවින් "සමාජ සාධාරණත්වයේ" දිවැසිවරයා ලෙස ආමෝස් දිවැසිවරයාව හැඳින්වේ. අප ද සාධාරණ දිවිපෙවතක් ගත කරමින් සමාජ අසාධාරණය ඉදිරියේ නැගී සිටීමට ආමෝස් දිවැසිවරයා මෙන් ක්‍රියා කළ යුතු වෙමු.

### හොසියා දිවැසිවරයා



4.3 රූපය - හොසියා දිවැසිවරයා

හොසියා ක්‍රි.පූ. 8 වන සියවසේ ජීවත් වූ තවත් දිවැසිවරයෙකි. එතුමාණන් සිය දිවැසිවර කාර්යය ඉටු කළේ ඉශ්‍රායෙලයේ ය. හොසියා දිවැසිවරයාගේ විවාහ ජීවිතය ම එක්තරා ආකාරයක දිවැසිවර පණිවිඩයක් විය. එතුමාණන් විවාහ වූයේ ගෝමෙර් නමැති කාන්තාව සමග ය. ඇය වෙනත් ස්වාමි පුරුෂයන් පසු පස ගියා ය. අවසානයේ දී ගෝමෙර් ව මනස්තාපනයට කැඳවන හොසියා

දිවැසිවරයා ඇයට සමාව දුන්නේ ය. හොසියා දිවැසිවරයාට ගෝමෙර් පිටුපෑවා සේ ඉශ්‍රායෙල් ජනතාව ද තමන්ට ඉමහත් සේ ප්‍රේම කළ දෙවියන් වහන්සේට පිටුපා වෙනත් දෙවි දේවතාවන් පසුපස ගියෝ ය. ඔවුනට වන්දනා කළෝ ය. මෙහි දී හොසියා දිවැසිවරයා තම බිරිඳ මනස්තාපනයට කැඳවූවා සේ දෙවියන් වහන්සේට පිටුපා යමින් පාප අන්ධකාරයේ ජීවත් වූ ඉශ්‍රායෙල් ජනතාව ද මනස්තාපනයකට කැඳවී ය. ඔවුනට නැවතත් දෙවියන් වහන්සේ සොයා යන්නට, උන්වහන්සේට ගෞරව ආදරය පුදකිරීමට අවශ්‍ය මඟ පෙන්වීම ලබා දුන්නේ ය. හොසියා දිවැසිවරයා පෙන්වා දුන් ලෙස කිතුනු අප ද එක ම දෙවියන් වහන්සේට පමණක් වන්දනා හා ආදරය දක්වමින් ඔවුන් වහන්සේට සේවය කළ යුතු වෙමු.

## ජෝනා දිවැසිවරයා



4.4 රූපය - ජෝනා දිවැසිවරයා

ජෝනා දිවැසිවරයා ක්‍රි.පූ. 5 වන සියවසේ ජීවත් වූ දිවැසිවරයෙක් ලෙස පිළිගැනේ . ඉශ්‍රායෙල්හි විරුද්ධවාදීන් ජීවත් වූ නිනිවයට ගොස් එහි වැසියන් මනස්තාපනයට කැඳවීම ජෝනා දිවැසිවරයා ලත් කැඳවීම ය. දෙවියන් වහන්සේගේ කැඳවීම ප්‍රතික්ෂේප කළ ජෝනා දිවැසිවරයා තාර්ෂෂ් නුවර කරා යන්නට නැව් නැග්ගේ ය. එතුමන් සිටි නැව කුණාටුවකට හසුවිය. එසේ වූයේ කවුරුන් නිසාද'යි බැලීමට නැවේ සිටි නිලධාරීහු දාදු දැමූහ. එහි දී දාදුව ජෝනා වෙත වැටුණි. එතුමන් ද තමන් දෙවියන් වහන්සේගේ ඉල්ලීම ප්‍රතික්ෂේප කර මෙසේ ගමන් ගන්නා බව ඔවුනට පැවසුවේ ය. කුණාටුව තමන් නිසා වන බැවින් තමන් ව මුහුදට දමන ලෙස ද ඉල්ලී ය. ජෝනා දිවැසිවරයාගේ බලවත් ඉල්ලීම මත අකමැත්තෙන් වුව ද නැවේ සිටි පිරිස විසින් ජෝනා ව මුහුදට හෙළන ලදි. එවිට කුණාටුව සමනය විය. ජෝනා දිවැසිවරයා ව මත්ස්‍යයකු විසින් ගිල තෙදිනකට පසු වමාරනු ලැබී ය. එහි දී තමන් නිනිවයට පැමිණ ඇති බව තේරුම් ගත් අතර නිනිවේ වැසියන්ට මනස්තාපනය වන ලෙස දේශනා කළේ ය. නිනිවයේ ජනතාව තමන්ගේ පාපවලට මනස්තාප වෙමින් නිරාහාරශීලි ව යාච්ඤා කළෝ ය. අවසානයේ දී ඔව්හු ජෝනා දිවැසිවරයාගේ මඟ පෙන්වීම මත දෙවියන් වහන්සේගේ කරුණාවට පාත්‍ර වූහ. අයහපත තුළ ජීවත් වෙමින් දිවි ගෙවන අය නිවැරදි මඟට ගැනීමට ජෝනා දිවැසිවරයා මෙන් අප ද ක්‍රියා කළ යුතු වෙමු.

## ක්‍රියාකාරකම

1. ගැළපෙන දිවැසිවරයාගේ නම ලියා පහත ප්‍රකාශ සම්පූර්ණ කරන්න.

- තම විවාහ ජීවිතය ම දිවැසිවර කාර්යයක් කරගත්තේ ................. ....................................................................... ය.
- මනස්තාපය තුළින් දෙවියන් වහන්සේගේ කරුණාවට ජනතාව යොමු කළේ ....................................................... ය.
- "සමාජ සාධාරණත්වයේ දිවැසිවරයා" යන විරුදාවලිය ලැබුවේ .................................................................. ය.

2. පහත අවස්ථාවන්හි ඔබට කළ හැකි එක් දිවැසි කාර්යයක් ලියන්න.

| අවස්ථාව | දිවැසි කාර්ය |
|---|---|
| • පංති කාමරය තුළ අසරණ ළමයකු පීඩාවට පත්වන විට | ................................................ .................................. |
| • ඔබගේ සහෝදරයා හෝ සහෝදරිය දෙවියන් වහන්සේගෙන් ඈත් ව දිවි ගෙවන විට | ................................................ ................................................ ...................................... |
| • අයහපත් ලෙස දිවි ගෙවනා මිතුරියක් හෝ මිතුරෙක් හමු වූ විට | ................................................ ............................................... |



**ජීවිතයට බිඳක්**

***කාලයේ සලකුණු හඳුනා ගනි මින් තම දිවැසිවර කැඳවීම ඉටු කිරීමට යොමු වෙමි.***

# 5 ආදි පිතෘ ආබ්‍රහම් තුමාගේ කැඳවීම



5.1 රූපය - ආබ්‍රහම් තුමා

ආදම් හා ඒව පව් කළ පසු ගැලවුම්කරුවකු එවා මනුෂ්‍ය සංහතිය පාපයෙන් ගලවා ගැනීමට දෙවියන් වහන්සේ පොරොන්දු වූ සේක. එම පොරොන්දුව ඉටු කිරීමට දෙවියන් වහන්සේ තෝරාගත් පළමු තැනැත්තා වන්නේ, ආබ්‍රහම් තුමා ය. එතුමා ආදි පිතෘවරයකු ලෙස හැඳින්වේ. එලෙස දෙවියන් වහන්සේ ආබ්‍රහම් තුමා තෝරා ගනු ලැබීම එතුමාට දුන් විශේෂ කැඳවීමෙන් ආරම්භ වේ. එම කැඳවීම ශුද්ධ බයිබලය මෙසේ වාර්තා කරයි.

සමිඳාණන් වහන්සේ ආබ්‍රම්ට කතා කොට, "නුඹේ මව් බිම ද නුඹේ නෑදෑයන් ද නුඹේ පියාගේ ගෘහය ද අත්හැරදමා, මා පෙන්වන්නට යන දේශයට යන්න. මම නුඹ මගින් විශාල ජාතියක් ඇති කරන්නෙමි; මම නුඹට ආශීර්වාද කරන්නෙමි; නුඹේ නාමය ආසිරි පැතීමේ නාමයක් වන සේ කීර්තියට පමුණුවන්නෙමි. ........... ආබ්‍රම්ට වයස අවුරුදු හැත්තෑපහක් වූ කල සමිඳාණන් වහන්සේ ඔහුට වදාළ ලෙසට, ඔහු හාරාන් දේශයෙන් පිටත් විය. ලොත් ද ඔහු සමග ගියේ ය. මෙසේ ආබ්‍රම් සිය බිරිඳ වන සාරයි ද තම සොහොයුරාගේ පුත් වන ලොත් ද හාරාන් දේශයෙන් රැස් කරගත් සියලු සම්පත් හා දැසිදසුන් ද රැගෙන කානාන් දේශය බලා නික්ම ගොස් එහි සැපත් විය. .... එවිට සමිඳාණන් වහන්සේ ආබ්‍රම්ට දර්ශනය වී, ඔහුට කතා කොට, "මම මේ දේශය නුඹේ පෙළපතට දෙන්නෙමි"යි වදාළ සේක.

(උත්පත්ති 12:1-2,4-5,7)

ආබ්‍රහම් තුමාගේ ගම ඌර් විය. එතුමා තම පියා හා නෑදෑයන් සමග ජීවත් වූයේ හාරාන්හි ය. හාරාන්හි ජීවත් වන විට එතුමා දෙවියන් වහන්සේගෙන් විශේෂ කැඳවීමක් ලබයි. එම කැඳවීම අනුව එතුමාට යාමට සිදුවන්නේ කානාන් දේශයට ය. එය "පොරොන්දු දේශය" යනුවෙන් ද හැඳින්වේ. පහත සිතියමෙන් ඌර්, හාරාන් හා කානාන් හඳුනා ගන්න.




ආබ්‍රහම් තුමාගේ කැඳවීමේ අංග දෙකකි.

1. පරිත්‍යාග
2. අභියෝග



ආබ්‍රහම් තුමාට තම මව්බිම, නෑදෑයන් හා පියාගේ ගෘහය හැර දමා දෙවියන් වහන්සේ පෙන්වන කානාන් දේශයට යාමට සිදු විය. තම දුක සැප වේදනාව හෝ සතුට බෙදා ගැනීමට ඥාතීන් හා ඇසුර අවශ්‍ය වුව ද සියල්ල අතහැර දෙවියන් වහන්සේ කෙරෙහි සම්පූර්ණ විශ්වාසය තබා මේ ගමන යා යුතු විය. ආබ්‍රහම් තුමා දෙවියන් වහන්සේගෙන් ලද කැඳවීම සම්පූර්ණයෙන් ම විශ්වාස කළේ ය. එම නිසා ආබ්‍රහම් තුමා "විශ්වාසයේ පියා" ලෙස හැඳින්වේ. දෙවියන් වහන්සේ කෙරෙහි පූර්ණ විශ්වාසය රඳවා ක්‍රියා කිරීමට අපට ද මේ සිද්ධිය මහඟු ආදර්ශයකි.




දරුවකු නොමැති ව මහලු වියේ පසු වූ ආබ්‍රහම් තුමා මගින් විශාල ජාතියක් ඇති කිරීමට යන බවට දෙවියන් වහන්සේ පැවසූ පොරොන්දුව ආබ්‍රහම් තුමා නොපැකිල පිළිගත්තේ ය. හාරාන් දේශයෙන් රැස් කර ගත් සියලු සම්පත් හා දැසි දසුන් රැගෙන සැතපුම් 800ක් (කිලෝමීටර් 1300ක්) පමණ දුර පිහිටි තමන් නොදන්නා කානාන් දේශය කරා ගමන් කිරීමට ඔහුට සිදු විය. මේ සියල්ල ආබ්‍රහම් තුමා මුහුණ දුන් අභියෝග ය.

### ආබ්‍රහම් තුමා ලද දේව පොරොන්දු

දෙවියන් වහන්සේගේ හඬට සවන් දී ඒ අනුව ජීවත් වන විට යම් යම් දේ පරිත්‍යාග කිරීමට සිදු වේ; යම් යම් අභියෝගයන්ට මුහුණදීමට සිදු වේ. එහෙත් සියල්ල පරිත්‍යාගවලින් හා අභියෝගවලින් අවසන් නොවේ.

දෙවියන් වහන්සේගේ ආශිර්වාදය දේව කැමැත්තට අවනත වන්නාට ලැබේ. ආබ්‍රහම් තුමා දෙවියන් වහන්සේගෙන් ලබන්නට යන වරප්‍රසාද එතුමා දෙවියන් වහන්සේගෙන් ලද පොරොන්දුවලින් ප්‍රකාශ වේ. එවැනි පොරොන්දු දෙකකි. ඒවා නම්;

1. ආබ්‍රහම් තුමා මගින් විශාල ජාතියක් ඇති කිරීම
2. ආබ්‍රහම් තුමාගේ පෙළපතට දේශයක් දීම

දේව පොරොන්දුවේ අරමුණ වූයේ වයස්ගත ආබ්‍රහම්තුමාට හා සාරාට දරුවකු ලබා දී විශාල ජාතියක් ඇති කරන්නටයි. එම පොරොන්දුවට අනුව ඇති වූ විශාල ජාතිය වූයේ ඉශ්‍රායෙල් ජාතිය යි. ඔවුනට දුන් පොරොන්දුව අනුව ලැබුණු දේශය වූයේ පොරොන්දු දේශය යි.

**ආබ්‍රහම් තුමාගේ කැඳවීම තුළින් ගත හැකි ආදර්ශ**

- දෙවියන් වහන්සේ විවිධ කාර්යයන් සඳහා ශිෂ්‍යයන් වන ඔබ කැඳවන සේක. එම කැඳවීමට අවනත වීම සඳහා ඔබ සූදානම් ව සිටිය යුතු ය.
- ලැබෙන කැඳවීමට අනුව හැකි උපරිමයෙන් දෙවියන් වහන්සේට සේවය කළ යුතු ය.
- දෙවියන් වහන්සේ කෙරෙහි පූර්ණ විශ්වාසය තබා දේව වචනය පිළිගැනීම හා ඒ අනුව ජීවිතය හැඩ ගස්වා ගත යුතු ය.
- අපගේ ජීවිත ගමනේ දී විවිධ දේ පරිත්‍යාග කිරීමට සිදු වන බව පිළිගත යුතු ය.
- අපගේ ජීවිතයේ තීරණාත්මක අවස්ථාවල දී දේව කැමැත්ත පිළිගෙන ජීවිත වෙනසක් ඇති කර ගත යුතු ය.
- අපට ලැබෙන ජීවිත අභියෝගවලට සාර්ථක ව මුහුණදීම සඳහා දෙවියන් වහන්සේට නිරතුරු ව යාච්ඤා කළ යුතු ය.

**ක්‍රියාකාරකම**

1. ආබ්‍රහම් තුමාගේ කැඳවීමේ අංග **දෙක** ලියන්න.
2. විශ්වාසය හීන වූ ඔබේ මිතුරකුට හෝ මිතුරියකට දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසය තැබීමට ඔබ මඟ පෙන්වන්නේ කෙසේදැයි කරුණු **තුනකින්** ලියා දක්වන්න.
3. පහත සඳහන් අවස්ථාවල දී ඔබ එම අභියෝග ජය ගැනීමට ක්‍රියා කරන අන්දම ලියා දක්වන්න.
   i. ඔබගේ හොඳ ම මිතුරා ඔබ සමග අමනාප වූ විට
   ii. ඔබ ක්‍රීඩා තරගයකින් පරාජය වූ විට
   iii. විනෝද චාරිකාවක් යාමට දෙමව්පියන්ගේ අවසරය නොලැබූ විට
   iv. ඔබගේ මව ආසාධ්‍ය රෝගයකින් පෙළෙන විට
   v. ඔබේ ජීවිතය දුක් කරදරවලින් පිරී යන විට
4. ආබ්‍රහම් තුමාට දෙවියන් වහන්සේ දුන් පොරොන්දු **දෙක** ලියන්න.
5. ආබ්‍රහම් තුමාගේ ජීවිතයෙන් ඔබට ගත හැකි ආදර්ශ **තුනක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

- *එදිනෙදා ජීවිතයේ දී ලැබෙන කැඳවීම් පිළිගනිමු.*
- *එදිනෙදා ජීවිතයේ සෑම අවශ්‍යතාවක් උදෙසා ම විශ්වාසයෙන් දෙවිඳුන් වෙත හැරෙමු.*
- *අභියෝගවලට විශ්වාසයෙන් මුහුණ දෙමු.*
- *විශ්වාසය තුළ දිව්‍ය සංරක්ෂණය අත්දකිමු.*

# 6 දෙවියන් වහන්සේ ආබ්‍රහම් තුමා සමග කළ ගිවිසුම

ගිවිසුමක් යනු පුද්ගලයන් දෙදෙනෙක් හෝ පාර්ශව දෙකක් අතර ඇති වන එකඟතාවකි. නූතන සමාජය තුළ විවිධ ගිවිසුම් ඇත. විවාහ ගිවිසුම්, සාම ගිවිසුම්, වෙළඳ ගිවිසුම් යනාදිය ඉන් සමහරකි. ගිවිසුමක් ඇති කර ගත් පසු එය ස්ථිර කළ යුතු ය. ඒ සඳහා දෙපාර්ශවයේ ම අත්සන් තැබිය යුතු ය. මිනිසුන් අතර සිදු වන ගිවිසුම්වලට වඩා දෙවියන් වහන්සේ හා මනුෂ්‍යයා අතර ඇති වන ගිවිසුම්වල විශේෂත්වයක් ඇත. ගිවිසුමට මුල පුරන්නේ දෙවියන් වහන්සේ ය. ගිවිසුම කුමක් දැයි ඉදිරිපත් කරන්නේ දෙවියන් වහන්සේ ය. ගිවිසුමේ පොරොන්දුව ඉටු කරන්නේ දෙවියන් වහන්සේ ය.

දෙවියන් වහන්සේ ආබ්‍රහම් තුමා සමග ගිවිසුමක් ඇති කරගත් සේක.




## විශාල දරු පරපුරක්

> සමිඳාණන් වහන්සේ ද ඔහු පිටතට රැගෙන ගොස්, “අහස දෙස බලා, හැකි නම්, ඔය තාරකා ගණන් කරන්න; නුඹේ දරු පරපුර එසේ ම වන්නේ ය”යි වදාළ සේක.
> (උත්පත්ති 15:5)

> මම නුඹට බොහෝ දරුසම්පත් දෙමි; නුඹෙන් ජාතීන් උපදවන්නෙමි; නුඹෙන් රජවරු පහළ වන්නාහ.
> (උත්පත්ති 17:6)

ඉහත ශුද්ධ බයිබල් පාඨ තුළින් අපට පෙන්නුම් කරන්නේ ආබ්‍රහම් තුමා විශාල ජනතාවකගේ පියා වන බව ය. දෙවියන් වහන්සේ ආබ්‍රහම් තුමාට දුන් පොරොන්දු ඉටු කරමින් පෙළපතක් බිහි කිරීමට පුතකු ලබා දුන් සේක. ආබ්‍රහම් තුමා වයස් ගත ව සිටිය ද ආබ්‍රහම් තුමාට දාව සාරාට පුතකු ලැබුණි. එම පුතාගේ නම ඊසාක් ය.

### සදාකාලයට ම හිමි වන දේශයක්

කානානිවරුන් සතු මේ දේශය නුඹේ පෙළපතට මම දෙමි.

(උත්පත්ති 15:21)

නුඹ දැන් ආගන්තුක ව වසන මේ දේශය මේ මුළු කානාන් දේශය, නුඹට ද, නුඹෙන් පසු පැවතෙන නුඹේ පෙළපතට ද මම සදහට ම අයිති කොට දෙමි.

(උත්පත්ති 17:8)

ඉහත ශුද්ධ බයිබලීය පාඨ තුළින් පෙන්නුම් කරන්නේ කානාන් දේශය ආබ්‍රහම් තුමාගේ පෙළපතට දෙවියන් වහන්සේ ලබා දීමට යන බව යි. ආබ්‍රහම් තුමාගේ ජීවිතයේ අනාගතය සම්පූර්ණයෙන් ම රඳා පැවැතියේ දෙවියන් වහන්සේගේ වරප්‍රසාද හා කරුණාව මත ය. දෙවියන් වහන්සේ ආබ්‍රහම් තුමාට දුන් පොරොන්දු ඒ ආකාරයෙන් සඵල වූ බව ශුද්ධ බයිබලයේ පැහැදිලි ව පෙන්වා දී ඇත. මහලු වයසේ දී ආබ්‍රහම් තුමාට හා සාරාට දරුවකු ලැබිණි. එම දරුවාගේ නම ඊසාක් ය. ඊසාක්ගෙන් මහා පරම්පරාවක් ඇති වී වැඩි වර්ධනය විය. කානාන් දේශය ආබ්‍රහම් තුමාගේ පරපුරට උරුම විය.

### ගිවිසුම කළ ආකාරය

සමිඳාණන් වහන්සේ ඔහුට කතා කොට, "මේ රට නුඹට උරුමයක් කර දෙනු පිණිස ඌර් නම් කල්දිවරුන්ගේ නුවරින් නුඹ පිටතට ගෙනා සමිඳාණන් වහන්සේ මම ය"යි වදාළ සේක. එහෙත් ආබ්‍රම්, "මහෝත්තම දෙවි ස්වාමීනි, මට එය උරුම වන්නට යන බව මා දැන ගන්නේ කෙසේ ද"යි ඇසී ය. උන් වහන්සේ ද ඔහුට පිළිතුරු දෙමින්, "තුන් අවුරුදු වැස්සියක ද තුන් අවුරුදු එළුදෙනක ද තුන් අවුරුදු බැටළුවෙකු ද කොබෙයියකු හා පරෙවි පැටවකු ද මා වෙත ගෙනෙන්නැ"යි වදාළ සේක. ආබ්‍රම් ද මේ සියල්ල උන්

වහන්සේ වෙත ගෙන අවුත් ඔවුන් දෙපළු කොට, පළු දෙක එකිනෙකට මුහුණලා තැබී ය. එහෙත් ඔහු පක්ෂීන් දෙපළු කෙළේ නැත. ඉර බැස යයි; අඳුර පැමිණෙයි; දෙපළු කරන ලද සතුන් මැදින් යන දුම් නගින උදුනක් ද දිළිසෙන ගිනි හුළක් ද පෙනේ.

(උත්පත්ති 15:7-10,17)

ඉහත ශුද්ධ බයිබල් පාඨ තුළින් පෙන්නුම් කරන්නේ, දෙවියන් වහන්සේ ආබ්‍රහම් තුමා සමග ගිවිසුම කළ ආකාරය යි. දෙවියන් වහන්සේ සංකේතවත් කෙරෙමින් දෙපළු කළ සතුන් මැදින් ගමන් ගන්නේ දුම් නගින උදුනක් සහ දිළිසෙන ගිනි හුලක් මිස ආබ්‍රහම් තුමා නොවේ. උදුනෙන් හා ගිනි හුලෙන් සංකේතවත් කරන්නේ දෙවියන් වහන්සේ ය. ඒ අනුව දෙපළු කරන ලද සතුන් මැදින් ගමන් කරන්නේ දෙවියන් වහන්සේ පමණි. තව ද ආබ්‍රහම් තුමාගේ ජීවිතයේ විවිධ බාධක, දුක් කම්කටොලු හා ගැටලු දෙබෑකරමින් දෙවියන් වහන්සේ ඔහුගේ ජීවිතය ආලෝකවත් කළ සේක.

### ගිවිසුමේ ලකුණ (චර්මඡේදනය)

නුඹලාගේ සියලු පිරිමි දරුවන් චර්මඡේදනය කළ යුතු ය. මෙය නුඹලාත් මාත් අතර පිහිටුවන ගිවිසුමේ සංකේතය වන්නේ ය. නුඹලාගේ පෙළපත්වල සියලු පිරිමි දරුවන් දින අටක් වයස් වූ කල ඔවුන් චර්මඡේදනය කළ යුතු ය.

(උත්පත්ති 17:10-12)

දෙවියන් වහන්සේ ආබ්‍රහම් තුමා සමග ඇති කරගත් ගිවිසුමේ බාහිර සලකුණ චර්මඡේදනය යි. එය ඉශ්‍රායෙල් ජනතාව දෙවියන් වහන්සේට කැපවීමේ ලකුණක් ද විය. එය විශේෂ දේව කැඳවීමක ද සලකුණකි. ආබ්‍රහම් තුමාගෙන් පැවත ආ ජනතාව චර්මඡේදනය කළා සේ අද අප ව ද ප්‍රසාද ස්නාපනය කරයි. එමගින් අප නව ගිවිසුමේ දේව ජනතාව බවට පත් වී දෙවියන් වහන්සේට කැපවෙමු.

## ආබ්‍රහම් තුමාගේ නම වෙනස් කිරීම හා නම්වල අර්ථ

> මින්පසු නුඹේ නාමය "උතුම් පියා" යන අර්ථය ඇති ආබ්‍රම් නොව "ජාතීන්ගේ පියාණෝ" යන අර්ථය ඇති "ආබ්‍රහම්" යයි කියනු ලබන්නේ ය. මන්ද, මා නුඹ බොහෝ ජාතීන්ගේ පියා කළ බැවිනි.
>
> (උත්පත්ති 17:5)

ආබ්‍රහම් තුමාගේ පෙර නම වූයේ ආබ්‍රම් ය. ආබ්‍රම් යන්නෙහි තේරුම "උතුම් පියා" යන්න ය. දෙවියන් වහන්සේ ආබ්‍රම් යන නම වෙනස් කර "ජාතීන්ගේ පියාණෝ" යන අර්ථය ඇති "ආබ්‍රහම්" යන නම දුන් සේක.

පුද්ගල නාමය කෙනෙකුගේ පෞරුෂය ඉඟි කරන්නකි. නම වෙනස් කිරීම තුළින් ඔහුගේ ජීවිත පැවැත්ම, තත්ත්වය හා වගකීම පෙන්නුම් කරනු ලැබේ. අපට ද ප්‍රසාද ස්නාපනයේ දී ක්‍රිස්තියානි නමක් දෙනු ලැබේ. ඔබට ලැබී ඇති ක්‍රිස්තියානි නම කුමක්ද යි සොයා බලන්න. එම නම හිමි ශුද්ධවන්තයාගේ ජීවිත කතාව සොයා ගෙන කියවන්න. එම ශුද්ධවන්තයාගේ ජීවිතාදර්ශය ඔබ අනුගමනය කරන්නේ ද යි මෙනෙහි කර බලන්න. ක්‍රිස්තියානි නමක් ඔබට නැතත් ඔබ ක්‍රිස්තුන් වහන්සේට ප්‍රසාද ස්නාපනයේ දී කැප කර ඇති බව සිහි කරන්න. ඒ අනුව ජීවත් වන්නට උත්සාහ දරන්න.

ප්‍රසාද ස්නාපනය මගින් අප ද ගිවිසුම් ජීවිතයකට ඇතුළු වේ. එම නිසා ප්‍රසාද ස්නාපන පොරොන්දු අනුව අප ජීවත් විය යුතු ය. අයහපත් ක්‍රියාවන්ට හා යක්ෂයාගේ බලයට හසුනොවී, දෙවියන් වහන්සේට විශ්වාසවන්තව ජීවත් විය යුතු ය. ප්‍රසාද ස්නාපනය මගින් ළමා ඔබට ද කැඳවීමක් ලැබී ඇති බව වටහා ගත යුතු ය. ඒ සඳහා ඔබට කළ හැකි දේ බොහෝ ය.

- ★ ශුද්ධ වූ සභාවේ ක්‍රියාකාරී සාමාජිකයකු වීම
- ★ තම ජීවිත සාක්ෂිය මගින් අන් අයට ක්‍රිස්තුන් වහන්සේ ව හඳුන්වා දීම
- ★ අනුන් ඉදිරියේ කිතුනු ඇදහිල්ලට සාක්ෂි දැරීම
- ★ දස පනතට අනුව ජීවත් වීම
- ★ අන් අයට දුන් පොරොන්දු ඉටු කිරීම
- ★ ධර්මදූත සේවාව තුළින් ජීවමාන ක්‍රිස්තුන් වහන්සේට සාක්ෂි දැරීම
- ★ ජීවිත අත්දැකීම් මගින් ඔබට කතා කරන දෙවියන් වහන්සේට නිතර සවන් දීම.

**ක්‍රියාකාරකම**

1. ආබ්‍රහම් තුමා සමග ඇති කරගත් ගිවිසුමේ වැදගත් කරුණු **දෙක** ලියා දක්වන්න.
2. "ආබ්‍රහම්" යන නමේ තේරුම ලියන්න.
3. ප්‍රසාද ස්නාපනය මගින් ගිවිසුම් ජීවිතයට ඇතුළු වූ ඔබට මීසම තුළ කළ හැකි කාර්යයන් **තුනක්** ලියන්න.
4. ඔබේ දෙමාපියන්ට හා ගුරුවරුන්ට පොරොන්දු ඉටු කරන ආකාර **තුන** බැගින් ලියන්න.



**ජීවිතයට බිඳක්**

- ★ *දුන් පොරොන්දු ඉටු කරන්න.*
- ★ *ප්‍රසාද ස්නාපන පොරොන්දු අනුව ජීවත් වන්න.*

# 7 ආදි පිතෘ ඊසාක් තුමා



7.1 රූපය - ඊසාක් තුමාගේ උපත

## ඊසාක් තුමාගේ උපත

සමිඳාණන් වහන්සේ වදාළ පරිදි උන් වහන්සේ සාරාට කරුණාව දැක් වූ සේක. උන් වහන්සේ ඇට දුන් පොරොන්දුව ඉටු කළ සේක. සාරා ද පිළිසිඳගෙන දෙවියන් වහන්සේ වදාළ නියමිත කාලයෙහි, ආබ්‍රහම්ගේ මහලු වයසෙහි ඔහුට දාව පුත්‍රයකු ලැබුවා ය. ආබ්‍රහම්, තම පුත්‍රයාට ඊසාක් යන නම තැබී ය. ඊසාක් වන තම පුතුට දින අටක් වූ කළ දෙවියන් වහන්සේ අණ කළ පරිදි ආබ්‍රහම් ඔහු චර්මඡේදනය කළේ ය. ඊසාක් උපදින විට ආබ්‍රහම්ට වයස අවුරුදු එකසියයකි. සාරා ද කතා කරමින්, "දෙවියන් වහන්සේ මා හිනැස්සූ සේක. මේ ගැන අසන සියල්ලන් මා සමග සිනාසෙනු ඇත."

(උත්පත්ති 21:1-6)

ආබ්‍රහම්තුමාට හා සාරාට දව ඊසාක් උපත ලබන විට ආබ්‍රහම් තුමාගේ වයස අවුරුදු 100කි. සාරාගේ වයස අවුරුදු 90කි (උත්පත්ති 17:17). මෙයින් පෙන්නුම් කරන්නේ දෙවියන් වහන්සේට කළ නොහැකි දෙයක් නැති බව ය. ඒ නිසා අප දෙවියන් වහන්සේ කෙරෙහි අපගේ සම්පූර්ණ විශ්වාසය තැබිය යුතු ය. විශ්වාසයෙන් යාච්ඤා කළ යුතු ය. "ඊසාක්" යන නමෙහි අර්ථය "සිනාසීම" යන්න ය. ඊසාක් තුමා ආදි පිතෘවරයෙක් වෙයි.



7.2 රූපය - ඊසාක් තුමා පූජා කිරීම

## ආබ්‍රහම් තුමා ඊසාක් පූජා කිරීම (උත්පත්ති 22:1-19)

දෙවියන් වහන්සේ : ආබ්‍රහම්, නුඹේ එක ම පුත්‍රයා ඊසාක් රැගෙන මොරියා දේශයට යන්න. එහි ගොස් මා පෙන්වන කන්ද මත දවන යාග පූජාවක් මෙන් ඔහු මට ඔප්පු කරන්න.

ආබ්‍රහම් තුමා : පුතා, ඊසාක්, දවන යාග පූජාවක් සඳහා දර ද රැගෙන මොරියා දේශයට යමු.

ඊසාක් : හොඳයි තාත්තේ, මම ඉක්මනින් සූදානම් වෙන්නම්.

ආබ්‍රහම් තුමා : හොඳයි, එහෙනම් පුතා අපි පිටත් වෙමු. (ආබ්‍රහම් තුමා දවන යාග පූජාවට සූදානම් කළ දර ඊසාක්ට දී තම අතට ගින්දර හා පිහිය රැගෙන දෙදෙනා ම එක් ව යන්නට පිටත් වූහ)

ඊසාක් : තාත්තේ, මෙහි දරත් ඇත; ගින්දරත් ඇත; නමුත් පූජාවට බැටළු පැටවා කොහේ ද?

ආබ්‍රහම් තුමා : පුතා, දෙවියන් වහන්සේ ම පූජාව සඳහා බැටළු පැටවා දේවි. (දෙවියන් වහන්සේ වදාළ ස්ථානයට පැමිණි ආබ්‍රහම් තුමා පූජාසනයක් ඉදිකර, පිළිවෙළට දර කෑලි තබා, තම පුත් ඊසාක් බැඳ, පූජාසනය පිට තැනූ දර සෑය මත තැබී ය. ඉන් පසු සිය පුතු මරන පිණිස පිහිය අතට ගත්තේ ය.)

දේවදූතයෙක් : ආබ්‍රහම්, ළමයාට අත නොගසන්න. ඔබේ එක ම පුත්‍රයා පූජා කිරීමට තරම්, ඔබ දේව ගරු බිය ඇත්තකු බව පෙනේ.

(ආබ්‍රහම් තුමා අංවලින් පඳුරක පැටලී සිටි බැටළුවා ගෙන, සිය පුත්‍රයා වෙනුවට දවන යාග පූජාවක් මෙන් උං පූජා කළේ ය.)

කානාන් දේශයේ ජනයා කුළුඳුල් දරුවන් දේවපූජා වශයෙන් වෙනත් දෙවිවරුනට ඔප්පු කළහ. ආබ්‍රහම් තුමා ඊසාක් පූජා කිරීමට සැරසුනු විට දෙවියන් වහන්සේ එය වළක්වා බැටළුවකු ඔහුට ලබා දුන් සේක. මෙයින් පෙන්නුම් කරන්නේ එදා පැවති දරුවන් පූජා ලෙස ඔප්පු කිරීමේ චාරිත්‍රය ඉශ්‍රායෙල්වරුන් විසින් නොකළ යුතු බව දෙවියන් වහන්සේ පෙන්වා දෙන බව ය. දේව පොරොන්දුව අනුව ජාතියක් ගොඩනැඟීමට සිටි තමාගේ එකම දරුවා පූජා කිරීමට පවා ආබ්‍රහම් තුමා කීකරු වූයේ දෙවියන් වහන්සේ කෙරෙහි තිබූ ප්‍රේමය හා විශ්වාසය නිසා ය.

ඊසාක් තුමා ද තම පියාණන්ගේ අණට කීකරු ව දේව කැමැත්ත ඉටු කිරීම සඳහා අවනත වූ බව පැහැදිලි ය. අප ද ඊසාක් තුමා මෙන් දෙමව්පියනට කීකරු යහපත් දරුවන් විය යුතු ය. දෙවියන් වහන්සේ අපගෙන් බලාපොරොත්තු වන්නේ උන්වහන්සේ කෙරෙහි විශ්වාසයෙන් දිවි ගෙවන යහපත් අය විය යුතු බව ය. එදා ආබ්‍රහම් තුමාගෙන් මෙන් ම අද කිතුනු අපගෙන් ද බලාපොරොත්තු වන්නේ, එවැනි කැප වූ යහපත් ජීවිතයකි.

### ඊසාක් තුමා මගින් ගිවිසුම අලුත් කිරීම

ඊසාක්ගේ මෙහෙකරුවන් මිටියාවතේ ළිං කණින විට ඔවුනට එහි දිය උල්පත් සහිත ළිඳක් සම්බ විය. එහෙත් ගෙරාර්හි ගොපල්ලෝ, "මේ වතුර අපගේ ය" කියමින් ඊසාක්ගේ ගොපලුන් සමඟ කලහ කළහ. ඔවුන් තවත් ළිඳක් කැණූ විට ගෙරාර්හි ගොපල්ලෝ ඒ ගැන ද කලහ කළහ. ඊසාක් ඉන්පසු එතැනින් නික්ම ගොස්, තවත් ළිඳක් කැණී ය. එහෙත් ඒ ගැන ඔවුන් කලහ නොකළ බැවින් එය "රෙහොබොත්" යන නමින් හැඳින්විය. ළිඳ මෙසේ හඳුන්වා "දැන් ඉතින් සමිඳාණන් වහන්සේ අපට මේ රටෙහි ඉඩ කඩ දුන් සේක. අපි මේ රටෙහි සමෘද්ධ වන්නෙමු"යි කීහ. පසු ව ඔහු එතැනින් පිටත් ව බෙයර්-ෂෙබාවට ගියේ ය. එම රාත්‍රියෙහි ම සමිඳාණන් වහන්සේ ඔහුට දර්ශනය වී මෙසේ වදාළ සේක. "නුඹ

පිය ආබ්‍රහම්ගේ දෙවිඳාණෝ මම ය. බිය නොවන්න. නුඹ සමග ද මම සිටිමි. නුඹට ආසිරි දෙමි. මාගේ දාසයා වන ආබ්‍රහම් නිසා නුඹේ පෙළපත මම වර්ධනය කරමි. ඊසාක් ද එහි පූජාසනයක් ඉදිකොට, සමිඳාණන් වහන්සේගේ නාමය කියා යාච්ඤා කළේ ය.

(උත්පත්ති 26:19-25)

ඊසාක් තුමාගේ එඬේරුන් ළිං කණින විට ගෙරාර්හි ගොපල්ලෝ, "මේ වතුර අපගේ ය" කියමින් ඊසාක් තුමාගේ ගොපලුන් සමග කලහ කළහ. එහෙත් ඊසාක් තුමා එයට දක්වූ ප්‍රතිචාරය ඉතා වැදගත් ය. ඊසාක් තුමා ඔවුන් සමග සටනට එළඹුණේ නැත. තම එඬේරුන්ට ඊසාක් තුමා අවවාද කළේ වෙනත් තැනක ළිං කැණීමට ය. ඒ අනුව අප ද අන් අය සමග කලහ නොකළ යුතු බවට ඊසාක් තුමා ආදර්ශයක් සපයයි.

දෙවියන් වහන්සේ ඊසාක් තුමා ව දිරිමත් කරමින් ආබ්‍රහම් තුමා සමග ඇති කරගත් ගිවිසුම ඊසාක් තුමා සමග නැවත අලුත් කළ සේක. "බිය නොවන්න, නුඹ සමග ද මම සිටිමි. නුඹට ආසිරි දෙමි. මාගේ දාසයා වන ආබ්‍රහම් නිසා නුඹේ පෙළපත මම වැඩි වර්ධනය කරමි" කියමින් දෙවියන් වහන්සේ ඊසාක් තුමා ව ශක්තිමත් කළ සේක.



අද අප ජීවත් වන පවුල තුළදීත් පාසල තුළදීත් සමාජය තුළදීත් මතු වන ගැටලුවලට විසඳුම වන්නේ, සාමකාමී දිවි පෙවතක් අනුගමනය කිරීම බව ඊසාක් තුමා අපට මතක් කර දෙයි.

**ක්‍රියාකාරකම**

1. "ඊසාක්" යන්නෙහි අර්ථය කුමක් ද?
2. නිවස තුළ ඔබගේ දෙමව්පියන්ට කීකරු යහපත් දරුවෙක් ලෙස ක්‍රියා කළ හැකි ආකාර **තුනක්** ලියන්න.
3. ඔබගේ ජීවිත ගැටලුවල දී සාමකාමී ලෙස ක්‍රියා කිරීම සඳහා ඔබ තුළ තිබිය යුතු යහපත් ගුණාංග **තුනක්** ලියන්න.
4. ඊසාක් තුමා තුළ තිබූ යහපත් ගුණාංග **දෙකක්** ලියන්න.
5. ඊසාක් තුමාගේ ජීවිතයෙන් ඔබට ගත හැකි ආදර්ශ **තුනක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

- *දෙමව්පියන්ට කීකරු යහපත් දරුවෙක් වන්න.*
- *අන් අය සමග සහයෝගයෙන් කටයුතු කරන්න.*
- *ජීවිතයට පැමිණෙන දුක් කරදර ඉවසීමෙන් දරා ගැනීමට හුරුවන්න.*

# 8 ආදිපිතෘ ජාකොබ් තුමා



8.1 රූපය - ජාකොබ් තුමාගේ උපත

## ආදිපිතෘ ජාකොබ් තුමාගේ උපත

ආබ්‍රහම්ට දුව ඊසාක් ඉපදිණි. මොහු බෙතුයෙල්ගේ දුව හා ලාබන්ගේ සොහොයුරිය ද වන රෙබෙකා සිය බිරිඳ මෙන් සරණපාවාගන්න කල්හි ඔහුගේ වයස අවුරුදු සතළිසකි. ඈ වඳ ස්ත්‍රියක වූයෙන්, ඔහු තම බිරිඳ උදෙසා බැගෑපත් ලෙස සමිඳාණන් වහන්සේ අයැදී ය. උන් වහන්සේ ඔහුගේ ඉල්ලීමට සවන් දුන් සේක. රෙබෙකා ගැබ්ගත්තා ය. ඇගේ කුසයෙහි හුන් දරුවන් දඟලන්නට ගත් විට, "තත්ත්වය මෙහෙම නම් මා ඉඳලා කුමකට ද"යි කියමින්, ඕ සමිඳාණන් වහන්සේගෙන් විමසීමට ගියා ය. සමිඳාණන් වහන්සේ ඈට කතා කොට මෙසේ වදාළ සේක: "ජාතීන් දෙකක් ඔබ කුස තුළ ඇත; දෙවර්ගයක සෙනඟක් ඔබ කුසෙන් බෙදී නික්මෙති. එක සෙනඟක් අනිකට වඩා බලවත් වෙති; වැඩිමලා බාලයාට මෙහෙ කරනු ඇත." ඇගේ ප්‍රසූත කාලය සම්පූර්ණ වූ විට, මෙන්න, ඇගේ කුසෙහි නිවුන් දරුවෝ සිටියහ. පළමුවැන්නා උපන්නේ ය. ඔහු රතු පාට ය, ඔහුගේ ඇඟ පුරා ම ලෝම වැස්මක් මෙන් විය. එබැවින් ඔහුට ඒසව් යන නම

දෙන ලදී. ඉන්පසු උපන්නේ ඔහුගේ සහෝදරයා ය. ඔහු තම අතින් ඒසව්ගේ විලුඹ අල්ලාගෙන සිටියේ ය. එබැවින් ඔහුට ජාකොබ් යන නම දෙන ලදි. රෙබෙකාට මොවුන් ලැබෙන විට ඊසාක්ගේ වයස අවුරුදු හැටකි.

(උත්පත්ති 25:19-26)



8.2 රූපය - බෙතෙල්හි දර්ශනය

## බෙතෙල්හි දර්ශනය (ගිවිසුම අලුත් කිරීම)

ජාකොබ් බෙයර්-ෂෙබායෙන් නික්ම හාරාන් බලා ගියේ ය. ඔහු එක්තරා ස්ථානයකට පැමිණ, ඉර බැස ගිය හෙයින්, මුළු රාත්‍රිය ම එහි ගත කෙළේ ය. තව ද ඔහු එතැනින් ගලක් රැගෙන, එය මත හිස තබාගෙන නිදන්නට විය. එවිට ඔහු සිහිනයක් දිටී ය. පුදුමයකි! පොළොවෙහි තබන ලද ඉණිමඟකි. එහි මුදුන අහස දක්වා විය. මෙන්න, දෙවියන් වහන්සේගේ දූතයෝ එහි නඟිමින් ද බසිමින් ද සිටියෝ ය. සමිඳාණන් වහන්සේ එයට ඉහළින් සිට, "මම වනාහි නුඹේ පියා වූ ආබ්‍රහම්ගේ දෙවියන් වහන්සේ ද ඊසාක්ගේ දෙවියන් වහන්සේ ද වන සමිඳාණන් වහන්සේ වෙමි. නුඹ සැතපී සිටින දේශය මම නුඹටත්, නුඹේ පෙළපතටත් දෙන්නෙමි. තවද, නුඹේ පෙළපත පොළොවේ දූවිලි මෙන් වැඩි වී, උතුරු, දකුණු, බටහිර, නැගෙනහිර දිශාවල පැතිර

යන්නේ ය. මිහි පිට සියලු ජාතීහු නුඹ හා නුඹේ පෙළපත මඟින් තමන් ආශීර්වාද කරගන්නෝ ය. මෙන්න, මම ද නුඹ සමග සිටිමි. නුඹ යන සියලු තැන්හි මම නුඹ රැක බලාගෙන මෙම දේශයට ම නුඹ නැවත ගෙනෙන්නෙමි. මන්ද, මා නුඹට කී දේ ඉටු කරන තුරු මම නුඹ අත නොහරින්නෙමි"යි වදාළ සේක. ජාකොබ් නින්දෙන් අවදි ව, "සැබැවින් ම සමිඳාණන් වහන්සේ මෙම ස්ථානයෙහි වැඩ සිටින සේක. එහෙත් මම එය නොදැන සිටියෙමි"යි කී ය. ජාකොබ් අලුයම නැඟිට, තම හිසට තැබූ ගල ගෙන, සිහිවටනයක් කොට එය සිටුවා, එහි මුදුනේ තෙල් වත් කළේ ය. තවද, ඔහු ඒ ස්ථානයට "දෙවියන් වහන්සේගේ ගෘහය" යන අර්ථය ඇති "බෙතෙල්" යයි නම් කෙළේ ය.

(උත්පත්ති 28:10-16, 18-19)

දෙවියන් වහන්සේ ආබ්‍රහම් තුමා සමග ඇති කර ගත් ගිවිසුම ජාකොබ් තුමා සමග නැවත අලුත් කළ සේක. "නුඹ සැතපී සිටින දේශය නුඹටත් නුඹේ පෙළපතටත් දෙන්නෙමි. නුඹේ පෙළපත පොළොවේ දූවිලි මෙන් වැඩි වී උතුරු, දකුණු, බටහිර, නැගෙනහිර දිශාවල පැතිර යන්නේ ය." ජාකොබ් තුමාට මෙහි දී දේව කැඳවීමක් ලැබුණේ ය. නින්දෙන් පිබිදුන ජාකොබ් තුමා එම ස්ථානයට "දෙවියන් වහන්සේගේ ගෘහය" යන අර්ථය ඇති බෙතෙල් යන නම තැබී ය.

## පෙනුයෙල්හි දර්ශනය (උත්පත්ති 32:24-32)



8.3 රූපය - පෙනුයෙල්හි දර්ශනය

ජාකොබ් තුමා හාරාන්හි ජීවත් වී ආපසු පොරොන්දු දේශයට පැමිණෙමින් සිටියේ ය. එක්තරා මිනිසෙක් එක් රාත්‍රියක පහන් වන තුරු ම ඔහු සමග පොර බැදුවේ ය. ඒ තැනැත්තාට එතුමාගෙන් ජය නොලැබෙන බව දුටු විට, ඔහු එතුමාගේ කලවා සන්ධියට පහරක් ගැසී ය. එවිට ජාකොබ් තුමාගේ කලවා සන්ධිය විසන්ධි විය. පහන් වේගෙන එන බැවින් ඔහුට යන්නට ඉඩ හරින්න යැයි ඒ තැනැත්තා ජාකොබ් තුමාට කී විට, "ඔබ මට ආශිර්වාද

කළොත් මිස මම ඔබට යන්න නොහරින්නෙමි"යි කීවේ ය. එවිට ඒ තැනැත්තා "ඔබේ නම කුමක් ද"යි ඇසූ විට, "මා ජාකොබ් යැ"යි එතුමා කීවේ ය. එවිට "මින් මතු ඔබේ නම ජාකොබ් නොවනු ඇත. ඔබ දෙවියන් වහන්සේ හා මනුෂ්‍යයා සමඟ පොර බදා ජයගත් බැවින් ඔබේ නම 'ඉශ්‍රායෙල්' වන්නේ ය"යි ඒ තැනැත්තා කීවේ ය. "කරුණාකර මට ඔබේ නම කියන්නැ"යි ජාකොබ් තුමා ඉල්ලී ය. "ඔබ, මගේ නම අසන්නේ මන්ද"යි කියා ඔහු ජාකොබ් තුමාට ආශිර්වාද කළේ ය. මෙම කතාවෙන් කියවෙන්නේ ජාකොබ් තුමා තුළ ඇති වූ ආධ්‍යාත්මික පොර බැදීමක් ගැන බව ද පැහැදිලි ය.

### ජාකොබ් ඒසව් හා සමගි වීම



8.4 රූපය - ජාකොබ් ඒසව්ට වැඳීම



8.5 රූපය - ඒසව් සමඟ සමගිවීම

ජාකොබ් නෙත් ඔසවා බැලූ විට, පුදුමයකි, ඒසව් ද ඔහු සමඟ හාරසියයක පිරිසක් ද එනු දිටී ය. ජාකොබ් තම සොහොයුරා වෙත පැමිණෙන තෙක් සත් වරක් බිමට නැමී වැන්දේ ය.

(උත්පත්ති 33:1-3)

ඉහත බයිබලීය පාඨයෙන් අපට පෙන්නුම් කරන්නේ ජාකොබ් තම සොහොයුරු ඒසව් සමඟ සමගි වීම යි. සහෝදර ඒසව් තමා වෙත පැමිණෙන දුටු විට ජාකොබ් තුමා ඔහු ඉදිරියේ සත් වරක් වැඳ වැටීමෙන් මෙය පෙන්නුම් කරයි. ජාකොබ් තුමාගේ ක්‍රියාවට ප්‍රතිචාර ලෙස ඒසව් ජාකොබ් තුමා වැළඳ ගෙන

හැඬූ බව ශුද්ධ බයිබලයේ වාර්තා වේ. ඔවුන් වචනයෙන් පමණක් නොව ක්‍රියාවෙන් ද සමගි විය. අන් අයට සමාව දෙන අයට දෙවියන් වහන්සේ ද සමාව දෙන සේක.

### ඒසව් සමග ජාකොබ් සමගි වීමෙන් ලබා ගතහැකි ආදර්ශ

- ★ වරදක් කළ කල්හි එම වරද පිළිගෙන සමාව ලබා ගත යුතු ය.
- ★ තමාට වැරදි කළ අයට සමාව දිය යුතු ය.
- ★ වචනයෙන් සමාව දී ක්‍රියාවෙන් ද එය ඔප්පු කළ යුතු ය.
- ★ සහෝදරයා සමග සමගියෙන් ජීවත් විය යුතු ය.

**ක්‍රියාකාරකම**

1. ජාකොබ් තුමාගේ දෙමව්පියන් නම් කරන්න.
2. රෙබෙකාට ලැබුණු නිවුන් දරුවන් දෙදෙනාගේ නම් ලියන්න.
3. රෙබෙකාගේ කුසෙහි සිටි දරුවන් ගැන දෙවියන් වහන්සේ පැවසුවේ කුමක් ද?
4. ඒසව් සහ ජාකොබ් යන නම්වල අර්ථ ලියන්න.
5. බෙතෙල්හි දර්ශනය කෙටියෙන් ලියන්න.
6. "බෙතෙල්" යන්නෙහි අර්ථය ලියන්න.
7. ජාකොබ් තුමාට "ජාකොබ්" යන නම ලැබීමට හේතුව ලියන්න.
8. ජාකොබ් තුමා ඒසව් සමග සමගිවීමේ සිද්ධිය තුළින් ඔබට ගත හැකි ආදර්ශ දෙකක් ලියන්න.



**ජීවිතයට බිඳක්**

- ★ *සෑම දෙනා සමග සමගියෙන් ජීවත් වෙමු.*
- ★ *අප හා විරසක වූ අය සමග මිතුරු වෙමු.*
- ★ *දේව හඬට ප්‍රතිචාර දක්වමු.*

# 9 අපෝස්තුලුවරුන්ගේ කැඳවීම



9.1 රූපය - ප්‍රථම ශ්‍රාවකයන් හතර දෙනා කැඳවීම

**ජේසුස් ස්වාමින් වහන්සේ අනුව ගිය ප්‍රථම ශ්‍රාවකයෝ (මතෙව් 4:18-22)**

(දිනක් ජේසුස් වහන්සේ ගලීල මුහුදු වෙරළෙහි ඇවිදිමින් සිටි සේක.)

ඇන්ඩෘ තුමා: පේදුරු, අර කවුද මේ පැත්තට ඇවිදගෙන එන්නේ?

පේදුරු තුමා: ආ ඒ ජේසුස් වහන්සේ නේ ද?

(ජේසුස් වහන්සේ ඔවුන් සිටි තැනට පැමිණෙයි)

ජේසුස් වහන්සේ : මා අනුව එන්න; මම ඔබ මිනිසුන් දිනාගන්නන් කරන්නම්.

පේදුරු හා ඇන්ඩෘ තුමන්ලා : ස්වාමිනී, අපි එනවා ඔබ සමග යන්න.

(ජේසුස් වහන්සේ ඔවුන් සමග ඉදිරියට ගමන් කරමින් සිටින විට සෙබදිගේ පුත් ජාකොබ් ද ඔහුගේ සොහොයුරු ජොහන් ද ඔවුන්ගේ පියා වන සෙබදි සමග ඔරුවේ හිඳ දැල් හෙලමින් සිටියෝ ය.)

ජේසුස් වහන්සේ : මා අනුව එන්න.

ජාකොබ් හා ජොහන් තුමන්ලා : ස්වාමිනී, අපිත් එනවා ඔබත් සමග යන්න. තාත්තේ, අපි ජේසුස් වහන්සේ සමග යනවා. පේදුරු හා ඇන්ඩෘ අපේ යාළුවෝ. ඒ අයත් ජේසුස් වහන්සේ සමගයි ඉන්නේ.

"මා අනුව එන්න" යනුවෙන් ජේසුස් වහන්සේ පේදුරු, ඇන්ඩෘ, ජාකොබ් හා ජොහන් තුමන්ලා කැඳවනු ලැබූ විට ඔවුන් එක විට ම උන්වහන්සේගේ කැඳවීම පිළිගෙන උන්වහන්සේ අනුව ගිය බව අපට ඉහත දෙබස තුළින් පෙන්වා දෙයි (මතෙව් 4:18-22). මොවුහු උන්වහන්සේගේ ප්‍රථම ශ්‍රාවකයෝ වූහ. ඔවුහු

- ⋆ ජේසුස් වහන්සේගේ වචනයට කීකරු වූහ.
- ⋆ සියල්ල අතහැර ජේසුස් වහන්සේ අනුව ගියහ.
- ⋆ ජීවිතයේ මුල් තැන ජේසුස් වහන්සේට දුන්හ.
- ⋆ ජේසුස් වහන්සේ අනුව යමින් ශුභාරංචිය අන් අයට දෙසූහ.

ප්‍රසාද ස්නාපනය තුළින් අප සියලු දෙනාට ම "මා අනුව එන්න. මම ඔබ මිනිසුන් දිනාගන්නන් කරමි" යන කැඳවීම ලැබී ඇත. විවිධ සේවා සඳහා ජේසුස් වහන්සේ අප ව කැඳවන සේක. එම කැඳවීම්වලට අප ප්‍රතිචාර දැක්විය යුතු ය.

කිතුනු කැඳවීම්වලට නිසි ප්‍රතිචාර දැක්වීමට අප කළ යුතු දේ:

- ⋆ ප්‍රථම ශ්‍රාවකයන්ගේ කීකරුකමේ ආදර්ශය අපගේ ජීවිතවලට ද ආදර්ශයක් කර ගත යුතු ය.
- ⋆ ජීවිතයේ කුමන අවස්ථාවක හෝ අපට ලැබෙන කැඳවීම්වලට ප්‍රතිචාර දැක්විය යුතු ය.
- ⋆ ජේසුස් වහන්සේගේ වචනයට කීකරු වී අපට පැවරෙන වගකීම් හා යුතුකම් ඉටු කළ යුතු ය.
- ⋆ දේව වචනය කියවා මෙනෙහි කළ යුතු ය.
- ⋆ දේව වචනයට සවන් දී අන් අයට පහදා දිය යුතු ය.

## මතෙව් තුමාගේ කැඳවීම

ජේසුස් වහන්සේ එතැනින් යද්දී රේගු පොළේ හුන් මතෙව් නම් මිනිසකු දැක, "මා අනුව එන්නැ"යි ඔහුට වදාළ සේක. ඔහු නැගිට උන්වහන්සේ අනුව ගියේ ය.

(මතෙව් 9:9)

ජේසුස් වහන්සේගේ කාලයේ දී අයකැමියන් විසින් රෝම අධිරාජ්‍යයට ගෙවිය යුතු බදු තම ජුදෙව් ජනතාවගෙන් නියමිත පමණට වැඩියෙන් එකතු කළ බැවින් ඔවුන් සමාජයෙන් කොන් කරනු ලැබිණි. ඔවුහු පව්කරුවන් ලෙස හඳුන්වන ලදි. එහෙත් ජේසුස් වහන්සේ රේගු (සුංගම්) පොළේ සිටි මතෙව් තුමාට "මා අනුව එන්න"යි ඇරයුම් කළ විට ඔහු සියල්ල අතහැර දමා, නැගිට උන් වහන්සේ අනුව ගියේ ය. මෙලෙස විවිධ රැකියාවල යෙදුණු, විවිධ පසුබිම් හා තරාතිරම්වලට අයත් වූවෝ ජේසුස් වහන්සේගේ ශ්‍රාවක පිරිසට ඇතුළත් වූහ. අප කුමන තත්ත්වයක සිටියත් දෙවියන් වහන්සේගේ කැඳවීම ලත්විට ඒ සියල්ල පසෙකලා උන් වහන්සේ අනුගමනය කිරීම අපගේ යුතුකම ය.

## අපෝස්තුලුවරු දොළොස් දෙනා



9.2 රූපය - අපෝස්තුලුවරු දොළොස් දෙනා

ප්‍රේරිතයන් දොළොස් දෙනාගේ නම් මෙසේ ය; පළමු ව පේදුරු නම් ලත් සීමොන් සහ ඔහුගේ සොහොයුරු ඇන්ඩෘ ය; සෙබදීගේ පුත් ජාකොබ් සහ ඔහුගේ සොහොයුරු ජොහන් ය; පිලිප් සහ බර්තොලමේව් ය; තෝමස් සහ අයකැමියා වන මතෙව් ය; අල්පෙවුස්ගේ පුත් ජාකොබ් සහ තද්දෙවුස් ය; අන්ත ජාතිවාදී සීමොන් සහ උන් වහන්සේ පාවා දුන් ජූදස් ඉස්කාරියොත් යන මොවුහු ය.

(මතෙව් 10:2-4)

ජේසුස් වහන්සේ දෙළොස් දෙනකු තෝරා ඔවුනට "ප්‍රේරිතයෝ" හෙවත් "අපෝස්තුලුවරු" යයි නම් තැබූ සේක. උන් වහන්සේ අපෝස්තුලුවරුන් තෝරා ගත්තේ උන් වහන්සේ සමග සිටින පිණිසත් සුබ අස්න දේශනා කිරීමට යවනු ලබන පිණිසත් ය. ඒ අයගේ නම් මෙසේ ය;

1. ශුද්ධ වූ පේදුරු මුනිතුමා
2. ශුද්ධ වූ ඇන්ඩෲ මුනිතුමා
3. ශුද්ධ වූ මහා ජාකොබ් (සන්තියාගු) මුනිතුමා
4. ශුද්ධ වූ ජුවාම් මුනිතුමා
5. ශුද්ධ වූ පිලිප් මුනිතුමා
6. ශුද්ධ වූ බර්තොලමේව් මුනිතුමා
7. ශුද්ධ වූ තෝමස් මුනිතුමා
8. ශුද්ධ වූ මතෙව් මුනිතුමා
9. ශුද්ධ වූ කුඩා ජාකොබ් මුනිතුමා
10. ශුද්ධ වූ ජූඩ් තද්දෙව්ස් මුනිතුමා
11. ශුද්ධ වූ අන්තවාදී (ජ්වලිත) සීමොන් මුනිතුමා
12. ජේසුස් වහන්සේ ව පාවා දුන් ජුදස් ඉස්කාරියොත්

ජේසුස් වහන්සේ ජුදෙව්වන් අතට පාවා දුන් ජුදස්ගේ මරණයෙන් පසු ජේසුස් වහන්සේගේ අපෝස්තුලුවරයෙක් අඩු විය. එබැවින් මතියස් තුමාව අපෝස්තුලුවරයකු ලෙස තෝරා පත් කර ගනු ලැබිණි. මේ අනුව මුල් කිතුනු සභාවේ දොළොස්වන අපෝස්තුලුවරයා ලෙස ගණන් ගනු ලබන්නේ ශුද්ධ වූ මතියස් මුනිතුමා ය. (ක්‍රියා 1:12-26)

## ධර්ම දූත වගකීම පැවරීම

ජේසුස් වහන්සේ ස්වර්ගාරෝහණ වීමට පෙර අපෝස්තුලුවරුනට ධර්මදූත වගකීම් පැවරුවේ පහත වචන වදාරමින් ය.

"ඔබ ගොස්, සකල ජාතීන් ශ්‍රාවකයන් කරන්න; පියාණන්ගේ ද පුත්‍රයාණන්ගේ ද ශුද්ධාත්මයාණන්ගේ ද නාමයෙන් ඔවුන් බව්තීස්ම ස්නාපනය කරන්න. මා ඔබට අණ කළ සියල්ල රක්ෂා කරන්න ඔවුන්ට උගන්වන්න. මම ද යුගාන්තය දක්වා සදහට ම ඔබ හා සමග සිටිමි." (මතෙව් 28:19-20)

ජේසුස් වහන්සේ මෙලොවින් සමුගැනීමට පෙර තම ශ්‍රාවකයන්ට ධර්මදූත කාර්යය ඉදිරියට ගෙන යාමේ වගකීම භාර දුන් සේක: "සකල ජාතීන් ශ්‍රාවකයන් කරන්න." ඒ අනුව ප්‍රසාද ස්නාපනය ලැබූ අප ද අන් අයට ක්‍රිස්තුන් වහන්සේ හඳුන්වා දීමට ක්‍රියා කළ යුතු ය. "පියාණන්ගේ ද පුත්‍රයාණන්ගේ ද ශුද්ධාත්මයාණන්ගේ ද නාමයෙන් ඔවුන් බව්තිස්ම ස්නාපනය කරන්න" යන්නෙන් ප්‍රසාද ස්නාපනය දානය කිරීම ක්‍රිස්තුන් වහන්සේගෙන් ම ලද වගකීමක් බව පෙන්වා දෙනු ලබයි. "මා ඔබට අණ කළ සියල්ල රක්ෂා කරන්නට ඔවුනට උගන්වන්න" යන නියෝගය නිසා අප ද බෞතිස් ම ස්නාපනය ලැබීම පමණක් ප්‍රමාණවත් නොවේ. උන් වහන්සේ ඉගැන්වූ ධර්මය අප දිනපතා රක්ෂා කළ යුතු ය. එය අන් අයට ද ප්‍රකාශ කළ යුතු ය.

**ක්‍රිස්තුන් වහන්සේ ලොවට හඳුන්වා දීමට කළ හැකි දේ:**

- ★ හොඳින් ශුද්ධ ලියවිල්ල අධ්‍යයනය කිරීම
- ★ දේව ප්‍රසාද නිධාන ලබා ගැනීම
- ★ නොකඩවා ජනවන්දනාවට සහභාගි වීම
- ★ දේව වචනය කියවීම, මෙනෙහි කිරීම හා ඒ අනුව ජීවත් වීම
- ★ ධර්මදූත සේවයේ නිරත වීම
- ★ මීසමේ සමිති සමාගම්වලට බැඳී සේවය කිරීම.

**ක්‍රියාකාරකම**

1. ජේසුස් වහන්සේගේ ප්‍රථම ශ්‍රාවකයන් හතර දෙනාගේ නම් ලියන්න.
2. ක්‍රියා 1:12-26 කියවා ජුදාස් වෙනුවට ශු.මතියස් තුමා පත් කිරීමේ සිද්ධිය පිළිබඳ ව රචනාවක් ලියන්න.
3. ක්‍රිස්තුන් වහන්සේ මෙලොවින් සමුගැනීමට පෙර තම ශ්‍රාවකයනට දුන් නියෝග **තුන** ලියන්න.
4. අන් අය දෙවි සමිඳුන් වෙත යොමු කිරීම සඳහා ඔබට කළ හැකි කාර්යයන් **තුනක්** ලියන්න.

5. පහත සඳහන් කොටුව තුළ ජේසුස් වහන්සේගේ අපෝස්තුලුවරුන්ගේ නම් සැඟවී ඇත. මෙම කොටුව ඔබේ අභ්‍යාස පොතේ ඇඳ අපෝස්තුලුවරුන් 12 දෙනාගේ නම් පාට කරන්න.

| | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|
| ග | ම | හා | ජා | කො | බ් | කු | පි | ලි | ප් |
| අ | තෙ | ද | දු | ස | ය | ඩා | ව | ජු | ස |
| න් | ල | ක | බ | ග | ඇ | ජා | ප | දා | බ |
| ත | ම | පි | ර් | ල | නි | කො | ජො | ස් | ජු |
| වා | තෙ | කු | ත | න | දි | බ් | රා | ඉ | ඩ් |
| දී | වි | ද | ල | දු | ජු | වා | ම් | ස් | ත |
| සී | ය | ධ | මෙ | ඔ | ත | ද | න | කා | ද් |
| මො | ක | ල | වි | තෝ | ම | ස් | ම | රි | දෙ |
| න් | සි | න | ස් | ආ | සා | ඔ | උ | යො | වු |
| පේ | දු | රු | පා | එ | ඇ | න් | ඩෘ | ත් | ස් |

8. ඔබට දේව සේවය සඳහා කැඳවීමක් ලැබුණහොත් ඔබ ක්‍රියා කරන්නේ කෙසේද යි පේළි **පහකින්** ලියා දක්වන්න.

9. "දේව වචනයට සවන්දීමේ වැදගත්කම" යන මාතෘකාව යටතේ ආගමික සමිතියක කළ හැකි කතාවක් වචන 100කින් පමණ ලියා දක්වන්න.



**ජීවිතයට බිඳක්**

- ★ දේව වචනය ජීවිතය පිරිපුන් බව කරා ගෙන යන ප්‍රඥාවේ උල්පතක් වන බැවින් දිනපතා දේව වචනය කියවා මෙනෙහි කරමු.
- ★ දේව වචනය අන් අයට බෙදා දීමට කටයුතු කරමු.
- ★ ජේසුස් වහන්සේ අන් අයට හඳුන්වා දෙමු.

# 10 ප්‍රසාද ස්නාපනය

නිර්මලා : අන්න සීනුව නාද කරනවා. දැන් අපිට තියෙන්නේ ආගම නේ ද?

සිරිල් : ඔව්, අන්න ටීචර් එනවා.

ගුරුතුමිය: ජේසු පිහිටයි!

සිසුහු : ජේසු පිහිටයි!

ගුරුතුමිය: ළමයි, අපි ශුද්ධාත්මයාණන් වහන්සේට ගීතිකාවක් ගායනා කරමු. (සියලු දෙනා ම ගුරුතුමිය හා එක් ව "ශුද්ධාත්මෙනි" යන ගීතිකාව ගායනා කරති.)
කාට ද කියන්න පුළුවන් අපි කතෝලිකයන් වුණේ කොහොම ද කියලා?

නිර්මලා : ටීචර්, මම කියන්නම් අපි ඒ ගැන හයවන ශ්‍රේණියේදීත් ඉගෙන ගත්තා. අපි හැමෝ ම පොඩි කාලේ ප්‍රසාද ස්නාපනය ලැබුවා. ඒ නිසයි අපි කතෝලිකයෝ වුණේ.

සිරිල් : ටීචර් මාව ක්‍රිස්තියානි කරලා තියෙන්නේ පොඩි කාලේ. එදා ගත්ත ෆොටෝ, අපේ ගෙදර ඇල්බම් එකේ තියනවා.

ගුරුතුමිය :බොහෝම හොඳයි. අපි හැමෝම ප්‍රසාද ස්නාපනය ලැබූ නිසයි කතෝලිකයෝ වුණේ. මම අද පාඩමෙන් ඔයාලට කියලා දෙන්න යන්නේ ප්‍රසාද ස්නාපනය දනය කරන ආකාරය පිළිබඳව යි.

සිරිල් : ටීචර්, අපේ නංගී ව ක්‍රිස්තියානි කරනකොට මම දැක්කා, ෆාදර් නංගීගේ ඔළුවට ජලය වත්කරනවා.

ගුරුතුමිය: පුතාගේ මතකය බොහෝ ම හොඳයි. මම අද ඒවා විස්තර ඇති ව කියලා දෙන්නම්. ප්‍රසාද ස්නාපනය දානය කරන කොට ජලය පාස්කු ඉටිපහන, සුදු වස්ත්‍ර, ශුද්ධ වූ තෛලය ආදිය භාවිත කරනවා. ඔයාලා හයවන ශ්‍රේණියේ දහවන පාඩමෙන් ඒ පින්තූර දැක්කා නේ ද?

නිර්මලා : ඔව් ටීචර්, අපි දැක්කා.

ගුරුතුමියඃ ප්‍රසාද ස්නාපනය දනය කරන කොට අනුපිළිවෙළක් තියෙනවා.

පැට්‍රික් ඃ කොහෙද ටීචර් ඒ අනුපිළිවෙළ ලියවිලා තියෙන්නේ?

ගුරුතුමියඃ ඔයලා දකලා තියනවා නේද, අපේ පූජාප්‍රසාදීන් වහන්සේලා විවිධ ආශිර්වාදයන් දනය කරනකොට භාවිත කරන පොත? ඒ පොතේ තමයි ඒ පිළිවෙත තියෙන්නේ. ඒ පොතට කියන නම "සරල පිළිවෙත් සංග්‍රහය"

**ප්‍රසාද ස්නාපන පිළිවෙත**



10.1 - ප්‍රසාද ස්නාපන පිළිවෙත් කිහිපයක්

- ත්‍රිත්ව ස්තෝත්‍ර යැදුමින් ආරම්භ කිරීම
- දරුවාට දෙන (ක්‍රිස්තියානි) නම විමසීම
- දෙමව්පියන් හා ආත්මික මව්පියන් වෙත ඔවුන්ගේ වගකීම් පැවරීම
- ළදරුවාගේ නළලේ පූජාප්‍රසාදීතුමා (දෙමව්පියන් හා ආත්මික මව්පියන්) කුරුසියේ ලකුණ සලකුණු කිරීම : මෙයින් ක්‍රිස්තුන් වන්සේ කුරුසිය මගින් දිනා දුන් ගැලවීම සංකේතවත් කෙරේ.
- දේව වාක්‍ය පිළිවෙත හා විශ්වාසකයින්ගේ යාච්ඤා : කිතුනු විශ්වාසයට පිළිතුරු දීම සඳහා දේව වචනයට සවන් දෙන්නා අලෝකවත් කරනු ලබයි.
- සාන්තුවර පිහිට අයැදීම
- දුෂ්ටාත්ම දුරු කිරීමේ යැදුම : මෙයින් පාපය හා යක්ෂයා පරාජය කිරීම සංකේවත් කෙරේ.
- ප්‍රසාද ස්නාපන පූර්ව ආලේපය (OC)
- දරුවාගේ හිස මත අත් තබා යැදීම
- ප්‍රසාද ස්නාපන පොරොන්දු දීම : යක්ෂයා ප්‍රතික්ෂේප කර ත්‍රිත්වික දෙවියන් වහන්සේ ව විශ්වාස කරන බවට දරුවා වෙනුවෙන් දෙමාපියෝ හා ආත්මික මව්පියෝ පොරොන්දු වෙති.
- හිසමත ජලය වත්කරමින් ප්‍රසාද ස්නාපනය කිරීම : ප්‍රසාද ස්නාපනයේ දී අත්‍යවශ්‍ය හා අනිවාර්ය පිළිවෙත වන්නේ මෙය යි. එනම්, "........ (නම) පියාණන්ගේ ද පුත්‍රයාණන්ගේ ද ශුද්ධාත්මයාණන්ගේ ද නාමයෙන් මම ඔබ බෞතීස්ම ස්නාපනය කරමි" යයි කියමින් පූජාප්‍රසාදීතුමා දරුවාගේ හිස මතට ජලය වත්කරයි. මෙම පිළිවෙත මගින් දරුවා ජලයෙන් හා ශුද්ධාත්මයාණන්ගෙන් බෞතීස්මය ලබයි.
- ක්‍රිස්මා තෛලයෙන් ආලේප කිරීම (SC) : පූජාප්‍රසාදිවරයකු, දිවැසිවරයකු හා රජ කෙනකු ලෙස ප්‍රසාද ස්නාපනය ලැබූ දරුවා ක්‍රිස්මා තෛලයෙන් ආලේප කරනු ලබයි.
- සුදු වස්ත්‍රය පැළඳවීම : ප්‍රසාද ස්නාපනය ලබන දරුවා ක්‍රිස්තුන් වහන්සේ ව පැළඳ ගැනීම මේ තුළින් සංකේවත් කරයි.
- පාස්කු ඉටිපහනින් ඉටිපහන් දල්වා ගැනීම : දරුවා ක්‍රිස්තුන් වහන්සේ විසින් ආලෝකවත් කරනු ලැබීම සංකේවත් කරයි. එබැවින් දරුවා ලෝකය තුළ ආලෝකයේ දරුවකු මෙන් ජීවත් විය යුතු වෙයි.
- මව සහ පියා අශිර්වාද කරනු ලැබීම
- අවසාන පොදු ආශිර්වාදය.

## ප්‍රසාද ස්නාපනය පිළිබඳ ශාසන නීතිය

ප්‍රසාද ස්නාපනය හා සම්බන්ධ නීති කිහිපයක් ශාසන නීති සංග්‍රහයේ දක්වා ඇත. ඒ අනුව;

- දරුවා අයත් දේවස්ථානයෙහි ප්‍රසාද ස්නාපනය කළ යුතු ය.
- මීසමෙන් බැහැර ස්ථානයක දී ප්‍රසාද ස්නාපනය ලබන්නේ නම් සාධාරණ හේතුවක් තිබිය යුතු ය.
- දරුවා උපත ලද පළමු සති කිහිපය තුළ ප්‍රසාද ස්නාපනය කළ යුතු ය.
- දරුවාට ප්‍රසාද ස්නාපනය ලබා දීමට දෙමාපියන් නිසි ලෙස සූදානම් විය යුතු ය. උදහරණ:- මීසම් භාර පියතුමා කල් ඇතුව දැනුවත් කර අවශ්‍ය උපදෙස් ලබා ගැනීම; ඔවුන් ද ආධ්‍යාත්මිකව ඊට සූදානම් විය යුතු වේ.
- මරණාසන්න දරුවනට හැකි ඉක්මනින් ප්‍රසාද ස්නාපනය ලබා දිය යුතු ය.
- ළදරුවකු ප්‍රසාද ස්නාපනය කිරීමට දෙමව්පියන් දෙදෙනාගෙන් එක් කෙනකු හෝ නීත්‍යනුකූල භාරකරුවා හෝ කැමැත්ත දිය යුතු අතර එම දරුවා කතෝලික විශ්වාසය තුළ ඇති දැඩි කරන බවට ඔවුහු මීසමේ පියතුමාට සහතික විය යුතු ය.
- මරණාසන්න පුද්ගලයෙක් ප්‍රසාද ස්නාපනය ලබන්නේ නම් කිතු දහමේ අපේක්ෂාවනට අනුව ජීවත් වන බවට පොරොන්දු විය යුතු ය.

**ක්‍රියාකාරකම**

1. ප්‍රසාද ස්නාපන පිළිවෙතෙහි වැදගත් ම අවස්ථාව කුමක් ද?
2. පාස්කු ඉටිපහතින් ඉටිපහන් දල්වා ගැනීමේ අර්ථය ලියන්න.
3. ප්‍රසාද ස්නාපනයේ වැදගත් අවස්ථා චිත්‍රවලට නගා ඒවා පිළිවෙළට අලවා පොත් පිංචක් සාදන්න.



**ජීවිතයට බිඳක්**

***ප්‍රසාද ස්නාපනය දනය කරන පිළිවෙත හොඳින් නිරීක්ෂණය කර ඒ පිළිබඳ ව මීසමේ පියතුමාගෙන් විමසා දැනුවත් වන්න.***

# 11 පූජකවරය



11.1 රූපය-පූජක පොරොන්දු ගැනීම



11.2 රූපය-මුනින්තලා වැටී කරන යැදුම



11.3 රූපය -හිස මත දෑත් තබා කරන යැදුම



11.4 රූපය-කැප කිරීමේ යැදුම



11.5 රූපය-පූජක පළඳනා පැළඳීම



11.6 රූපය-ක්‍රිස්මා තෛලයෙන් දෑත් ආලේප කරනු ලැබීම



11.7 රූපය-පූප සහිත තැටිය හා මිදියුෂ කුසලානය භාරදීම

ඉහත සඳහන් පින්තූර කෙරෙහි ඔබගේ අවධානය යොමු කරන්න. පූජකවරය දානය කරන මෙහෙයෙහි විශේෂ අවස්ථා ඒවායින් නිරූපනය කරයි. පූජකවරය දානය කරන්නේ රාජගුරුප්‍රසාදින් වහන්සේ ය. එතුමා තේවාචාරිතුමාගේ හිස මත දෙඅත් තබමින් යාච්ඤා කර පූජකවරය දානය කරයි.

පූජකවරය දෙවි පියාණන් වහන්සේගෙන් ලැබෙන උතුම් කැඳවීමකි. ලෝකයේ අවසානය දක්වා ශුද්ධ වූ සභාව තුළ ක්‍රියාත්මක කළ යුතු ක්‍රිස්තුන් වහන්සේ

විසින් තම අපෝස්තුලුවරුනට පවරන ලද ධර්ම දූත සේවාව නොකඩවා ඉදිරියට ගෙනයනු ලබන්නේ පූජකවරය නමැති දේව ප්‍රසාද නිධානයෙනි. පූජකවරය නමැති දේව ප්‍රසාද නිධානය මහා බ්‍රහස්පතින්දා දින අන්තිම රාත්‍රි භෝජන අවස්ථාවේ දී ක්‍රිස්තුන් වහන්සේ විසින් ස්ථාපිත කරනු ලැබිණි. එම නිසා මහා බ්‍රහස්පතින්දා දිනය පූජකවරුන්ගේ මංගල්‍ය දිනය ලෙස ප්‍රකාශ කර ඇත. එදින ඔවුන් වෙනුවෙන් අයදින්නට දේව ජනතාවට ආරාධනා කෙරේ. පූජකවරය ආත්මයේ නොමැකෙන ලාංඡනයක් ලැබෙන, ජීවිතයේ එකවරක් පමණක් ලබාගත හැකි දේව ප්‍රසාද නිධානයකි. පූජකවරය ලැබූ පූජාප්‍රසාදීන් වහන්සේ දෙවියන් වහන්සේ හා දේව ජනතාව අතර මධ්‍යස්ථකයෙක් ලෙස කටයුතු කරයි. පූජකවරයෙහි ධුර තුනක් ඇත. එනම්, තේවාචාරී, පූජක හා රාජගුරු යන ධුරයන් ය. එම ධුරවලට පැවරෙන වගකීම් පහත දක්වා ඇත.



11.8 රූපය - තේවාචාරී

### තේවාචාරිවරුන්ගේ වගකීම්

- දිව්‍ය පූජාව තුළ සුවිශේෂය කියවීම හා ධර්මානුශාසනය පැවැත්වීම
- පිළිවෙත් අනුව ප්‍රසාද ස්නාපනය දානය කිරීම
- දිව්‍ය සත්ප්‍රසාද ආශිර්වාදය දානය කිරීම
- ආශිර්වාදකාර බන්ධන පිළිවෙත සිදු කිරීම
- අවමගුල් පිළිවෙත් පැවැත්වීම
- රදගුරුවරුනට හා පූජකවරුනට ජනවන්දනාවේ දී සහාය වීම.



11.9 රූපය - පූජක

### පූජාප්‍රසාදිතුමන්ලාගේ වගකීම්

- දිව්‍ය පූජාව පැවැත්වීම
- සුවිශේෂය දේශනා කිරීම
- සැබෑ එඬේරකු ලෙස මීසම පරිපාලනය කිරීම
- දේව ප්‍රසාද නිධාන දානය කිරීම (පූජකවරය හැර)
- මීසමේ ප්‍රමුඛ ධර්මෝපදේශකයා ලෙස ක්‍රියා කිරීම
- විවිධ අවස්ථාවල ආශිර්වාද කිරීම.



11.10 රූපය - රාජගුරු

### රාජගුරුප්‍රසාදින් වහන්සේලාගේ වගකීම්

- රදගුරු පදවිය පාලනය කිරීම
- දේව ජනතාවට ඉගැන්වීම
- දේව ජනතාව ශුද්ධවන්ත කිරීම
- දේව ජනතාවගේ විශ්වාසය ආරක්ෂා කිරීම
- ජනවන්දනා මෙහෙයන් පැවැත්වීම
- දේව ප්‍රසාද නිධාන දානය කිරීම

කතෝලික පූජාප්‍රසාදින් වහන්සේලා කොටස් දෙකකට බෙදිය හැකි ය.

**පූජාප්‍රසාදිවරු**

**පදවි පූජක**
රාජගුරුප්‍රසාදින් වහන්සේලා යටතේ රදගුරු පදවිය තුළ සේවය කරති.

**පැවිදි පූජක**
පැවිදි නිකායේ ශ්‍රේෂ්ඨ පියවරුන් යටතේ තම නිකායේ කැරිස්මාව අනුව සේවය කරති.

### පූජක පොරොන්දු හා වේදහාර

පූජාප්‍රසාදිවරුන් විසින් පොරොන්දු හෝ වේදහාර දිය යුතු ව ඇත. ඒවා මෙසේ ය.

- පදවි පූජකවරු පොරොන්දු දෙකක් ගනිති.
  1. කීකරුකම : රාජගුරුප්‍රසාදීන් වහන්සේට කීකරුවීම
  2. පූජක බඹසර : විවාහ නොවී දේව රාජ්‍යය වෙනුවෙන් කැපවීම
- පැවිදි පූජකවරු වේදහාර තුනක් ගනිති. ඒවා නම්,
  1. කීකරුකම : පැවිදි නිකායේ ශ්‍රේෂ්ඨාධිපතිතුමාට කීකරුවීම
  2. ව්‍රත ශුද්ධිය : විවාහ නොවී දේව රාජ්‍යය වෙනුවෙන් කැපවීම
  3. දිළිඳුකම : බැංකු ගිණුම්, යානවාහන හා ඉඩකඩම් යනාදියට හිමිකම්

නොකීම. (තමන්ට ලැබෙන සියලු දේපළ අයිති වන්නේ පැවිදි නිකායට ය)

අප දේව රාජ්‍යය කරා ළඟා කිරීමට තම දිවිය කැප කරන පූජාප්‍රසාදීන් වහන්සේලා වෙනුවෙන් අප විසින් ඉටු කළ යුතු යුතුකම් ඇත. ඉන් කිහිපයක් නම්;

- ඔවුන් උදෙසා යාච්ඤා කිරීම
- ජනවන්දනා කටයුතුවලට සහාය වීම
- ශුද්ධ වූ සභාවේ පනතක් වන "ඥාණගෝපාලයන් නඩත්තු කිරීම" යන පනතට අනුව හැකි අයුරින් ආධාර ලබා දීම (ඥාණගෝපාලයන් ලෙස අද හඳුන්වන්නේ පූජාප්‍රසාදින් වහන්සේලා ය)
- දේව රාජ්‍යය පතළ කිරීමේ කටයුතුවලට සහාය වීම.

**ක්‍රියාකාරකම**

1. තේවාචාරි, පූජාප්‍රසාදි හා රාජගුරු ප්‍රසාදී යන ධුර **තුනෙහි** කාර්යයන් වෙන වෙන ම වගුගත කරන්න.
2. පදවි පූජකවරුන් හා පැවිදි පූජකවරුන් අතර වෙනස්කමක් ලියන්න.
3. පූජකවරුන් වෙනුවෙන් කිව හැකි යාච්ඤාවක් ලියන්න.
4. ඔබේ මීසමේ පූජාප්‍රසාදීන් වහන්සේ පිළිබඳ තොරතුරු ගොනු කර, නිර්මාණාත්මක ව ඉදිරිපත් කරන්න.
5. පූජකවරුන් වෙනුවෙන් ඉටු කළ යුතු යුතුකම් **දෙකක්** ලියන්න.
6. පූජක සේවාව අගය කර කවියක් ලියන්න.
7. පැවිදි පූජකවරුන් ගන්නා වේදභාර **තුන** නම් කරන්න.



**ජීවිතයට බිඳක්**

***ඔබට සේවය කරන පියතුමන්ලා වෙනුවෙන් දිනපතා යාච්ඤා කරන්න.***

# 12 පැවිදි දිවිය



12.1 රූපය - පැවිදිවරු

පැවිදි ජීවිතය මුළුමනින් ම දෙවියන් වහන්සේට කැපවුණු ජීවිතයකි; විශේෂ දේව කැඳවීමකි. පැවිදි අය ශුද්ධාත්මයාණන් වහන්සේ විසින් මෙහෙයවනු ලැබ ජේසුස් වහන්සේ අනුගමනය කරන්නට ද සියල්ලට ම වැඩියෙන් දෙවියන් වහන්සේට ආදරය කරන්නට ද දේව රාජ්‍යයේ සහ පැමිණෙන ජීවිතයේ මහිමය ප්‍රකාශ කරන සලකුණක් වන්නට ද අදහස් කරති.

- පැවිදි නිකායයන්
  - පැවිදි පූජක
  - පූජක නොවන පැවිදි අය
    - පැවිදි සොයුරන්
    - පැවිදි සොයුරියන්

## පැවිදි පූජක නිකායයන්

පැවිදි පූජක නිකායයනට අයත් පැවිද්දෝ පූජකවරය නමැති දේව ප්‍රසාද නිධානය ලබා ගනිති. එම නිසා ඔවුනට දිව්‍ය පූජාව පැවැත්විය හැකි ය. මොවුහු ශ්‍රේෂ්ඨයකු යටතේ නිශ්චිත ව්‍යවස්ථාවක් අනුගමනය කරන අතර ස්වර්ගීක ජීවිතය මෙලොව අත්දැකීමට උත්සාහ කරති.

පැවිදි පූජක නිකායයනට උදාහරණ:

- නිර්මල මරිය නිකාය
- ජේසු නිකාය
- සිල්වෙස්ත්‍රෝ බෙනදිකාන නිකාය
- දිව්‍ය සත්ප්‍රසාදීය නිකාය
- ෆ්‍රැන්සිස්කාන තුන්වන නිකාය
- ක්ලැරේසියාන නිකාය

## පූජක නොවන පැවිදි නිකායයන්

මොවුහු පැවිදි සොයුරන් හා පැවිදි සොයුරියන් යනුවෙන් කොටස් දෙකක් වෙති. මොවුනට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බෙදා දීමේ සේවාව ඉටු කළ හැකිය.

පැවිදි සොහෝදරතුමන්ලාට උදාහරණ:

- මාරිස්ට් සහෝදරතුමන්ලා
- ෆ්‍රැන්සිස්කාන ධර්මදූත සහෝදරතුමන්ලා
- ද ලා සාල් සහෝදරතුමන්ලා
- දයාවේ සහෝදරතුමන්ලා

පැවිදි සොයුරියනට උදාහරණ:

- ශුද්ධ වූ පවුලේ පැවිදි සොයුරියෝ
- අපෝස්තලික කාර්මෙල් පැවිදි සොයුරියෝ
- යහපත් එඬේරාගේ පැවිදි සොයුරියෝ
- සුරදූතික පැවිදි සොයුරියෝ
- දිව්‍ය ගැලවුම්කරුවාණන්ගේ පැවිදි සොයුරියෝ
- සිරි කුරුස පැවිදි සොයුරියෝ
- දොමිනිකාන පැවිදි සොයුරියෝ

සියලු ම පැවිදි නිකායනට අයත් පැවිදි අය දෙවියන් වහන්සේ වෙනුවෙන් තමන්ගේ ජීවිත කැපකරති. ඔව්හු;

1. දිළිඳුකම
2. කීකරුකම
3. ව්‍රත ශුද්ධිය

යන වේදහාර තුන භාර ගනිති. මොවුහු වේදහාර පිළිබඳ ප්‍රථම පොරොන්දු දී වසර කිහිපයකට පසු සදාකාලික පොරොන්දු ගනිති. දේව රාජ්‍ය ගොඩනැගීම පැවිදි වූවන්ගේ ප්‍රධාන කාර්යයි.

පැවිදි ජීවිතය ගත කරන සැම දෙනා ම දේව රාජ්‍යය ගොඩනැගීමේ කාර්යයට සහාය දක්වති. ඔව්හු අධ්‍යාපන, සමාජ සේවා ආදී ක්ෂේත්‍රවල සේවය කරති. එමෙන් ම මීසම්වල ද සේවය කරති. පැවිදි ජීවිතය ගත කිරීමට කැමැති අය ගැඹුරු පුහුණුවක් ලැබිය යුතු ය. පැවිද්දෝ තම සියලු ලෞකික ආශා දමනය කර ගනිමින් දේව රාජ්‍යය ප්‍රකාශ කිරීමේ කාර්යයට හවුල් වෙති. ඔවුහු තමන්ගේ ජීවිත ආදර්ශය තුළින් ඔවුන් දේව රාජ්‍ය පිළිබඳ ව දේශනා කරති.

එක් එක් පැවිදි නිකායේ ආරම්භකයාගේ පරමාර්ථ අනුව ඔව්හු සේවය කරති. එම සේවා ඉටු කිරීම තුළින් ක්‍රිස්තුන් වහන්සේගේ ධර්මදූත සේවාවට ඔව්හු දායක වෙති.

| පැවිදි නිකාය | දූතික සේවා |
| --- | --- |
| • නිර්මල මරිය නිකාය  | දිළිඳුනට සුබාරංචිය දේශනා කිරීම ධර්ම විවේක පැවැත්වීම, මීසම් සේවය රෝහල් සේවය |
| • සිල්වෙස්ත්‍රෝ බෙනදිකාන නිකාය  | අධ්‍යාපනය, මීසම් සේවාව, දේව මහිමය සඳහා සාමූහික ව දිවි ගෙවීම |
| • මාරිස්ට් සහෝදර පැවිදි නිකාය  | අධ්‍යාපන සේවය, තරුණයින් සඳහා ස්වයං රැකියා පුහුණුව ලබා දීම |

| | |
|---|---|
| ● ද ලාසාල් සහෝදරතුමන්ලා  | අධ්‍යාපන සේවය, තරුණ ජීවිත සඳහා විවිධ සේවාවන්, ස්වයං රැකියා පුහුණුව |
| ● ශුද්ධ වූ පවුලේ නිකාය  | අධ්‍යාපන සේවය, ධර්මෝපදේශ සේවය, ධර්මදූත සේවය |
| ● අපෝස්තලික කාර්මෙල් පැවිදි සොයුරියන්  | පාසල් අධ්‍යාපනය, වැඩිහිටි අධ්‍යාපනය මීසම් සේවා |
| ● යහපත් එඬේරාගේ පැවිදි සොයුරියන්  | තරුණියන් සඳහා විවිධ සේවා, පාසල් අධ්‍යාපනය, අනාථ වූ තරුණියන්ගේ ජීවිත ගොඩනැගීමට සහාය වීම |
| ● සුරදූත නිකාය  | පාසල් සේවය, අනාථ දරු නිවාසවල සේවය ළමා පරපුර හා තරුණියන් වෙනුවෙන් සේවා |
| ● දිව්‍ය ගැලවුම්කරුවාණන්ගේ පැවිදි සොයුරියන්  | ධර්මදානය, දිළිඳු අසරණ පීඩිත ජනතාවට පිහිට වීම, මීසම් සේවාව |
| ● සිරි කුරුස පැවිදි සොයුරියන්  | සෞඛ්‍ය සේවාව, වතු කම්කරු ජනතාව සඳහා සේවාව, ධර්මෝපදේශය |
| ● දොමිනිකාන පැවිදි සොයුරියෝ  | අධ්‍යාපනය, ළදරු පාසල්, ධර්මෝපදේශය, මීසම් සේවය |

මෙලෙස ගිහියන් වෙනුවෙන් සේවය කරන පැවිදිවරුනට සහාය වීම ගිහියන්ගේ යුතුකමකි. ගිහියන් පැවිදිවරුන්ගේ සේවාවනට සහාය විය හැකි ආකාර කිහිපයක් පහත දැක්වේ:

- ඔවුන් හා එක් ව දයාවේ සේවාවල නිරත වීම
- ඔවුන් වෙනුවෙන් යාච්ඤා කිරීම
- ඔවුනට ගරු කිරීම
- දේව රාජ්‍යය පතළ කිරීමේ කටයුතුවල දී සහාය දැක්වීම
- දේව කැඳවීම් වෙනුවෙන් දිරිගැන්වීම, යාච්ඤා කිරීම

ඔබටත් සමහර විට පැවිදි ජීවිතය සඳහා කැඳවීමක් ලැබිය හැකි ය. එවැනි කැඳවීමක් පතා ඔබටත් යාච්ඤා කළ හැකි ය.

**ක්‍රියාකාරකම**

1. පහත සඳහන් කරුණු යටතේ වචන 100කට නොඅඩු නිර්මාණාත්මක රචනාවක් ලියන්න.
   - පැවිදි ජීවිතය යනු
   - පැවිදි ජීවිතය දේව කැඳවීමක් බව
   - පැවිදි ජීවිතයේ උතුම්කම
2. පැවිදිවරුන්ගේ සේවාවනට සහාය විය හැකි ආකාර **හතරක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

***පූජක හෝ පැවිදි දිවියට කැඳවීමක් පතා යාච්ඤා කරන්න.***

# 13 ගිහි කැඳවීම



13.1 රූපය - අපට උදව්වන අය

මෙම පින්තූරවල සිටින්නන් පොදු ජනතාවට සේවය කිරීමට තම තමන්ගේ හැකියා අනුව වෘත්තීන් තෝරා ගත් අය ය. ඒ අය එම සේවාවන් කරන්නේ රැකියාවක් වශයෙනි. එහෙත් අප කිතුනුවන් වශයෙන් කැපවීමෙන් අන් අයගේ යහපත සඳහා සේවය කිරීමට කැඳවනු ලබයි. එලෙස කැඳවනු ලබන්නේ ප්‍රසාද ස්නාපයෙනි.

ප්‍රසාද ස්නාපනයේ දී අපි ක්‍රිස්මා තෛලයෙන් ආලේප කරනු ලැබ රජවරුන් දිවැසිවරුන් හා පූජකයන් ලෙස වගකීම් ලබමු. එම ආලේප කිරීම මගින් අපි;

1. එඬේරික (රාජකීය)
2. පූජක
3. දිවැසිවර

යන තුන් ආකාර සේවාවන්ට කැඳවනු ලබමු. ඒ අනුව සැම කිතුනුවෙක් ම ප්‍රසාද ස්නාපනය ලැබීම තුළින් ක්‍රිස්තුන් වහන්සේගේ ගැලවීම දායක ප්‍රේමය කිතුනු සංඝයට ගෙන යන පොදු පූජක කැඳවීම ලද අයෙක් වෙයි.

පොදු පූජකවරය ලැබුවෝ ක්‍රිස්තුන් වහන්සේගේ පූජක, එඬේරික හා දිවැසිවර කාර්යයෙහි පංගුකාරත්වය ලබති. රදගුරුතුමන්ලා, පූජකතුමන්ලා, තේවාචාර්යවරුන් හා පැවිදිවරුන් හැර ප්‍රසාද ස්නාපනය ලැබූ සෙසු අය ගිහියෝ වෙති. ගිහි ජනතාව එදිනෙදා ජීවිත කටයුතු තුළින් දේව රාජ්‍ය මෙලොව පතළ කිරීමට වෙහෙසෙති. පූජකවරය නමැති දේව ප්‍රසාද නිධානය ලැබුවෝ නිල පූජකවරු වෙති.

හත්වන ශ්‍රේණියේ දරුවන් හැටියට ඔබට පොදු පූජකවරය නමැති කැඳවීමෙන් පැවරෙන වගකීම් ඉටු කිරීමට කළ හැකි කාර්යයන් කිහිපයක් පහත දැක්වේ.

| දිවැසිවර | පූජක | එඬේරික |
|---|---|---|
| • දේව වචනයට සාක්ෂි දැරීම<br>• සත්‍යය ප්‍රකාශ කිරීම<br>• දිනපතා ශුද්ධ බයිබලය කියවීම<br>• දේව වාක්‍ය කියවීම<br>• සමාජය තුළ දැහැමිබවට හා සාධාරණත්වයට සාක්ෂි දැරීම | • එකිනෙකා වෙනුවෙන් යැදීම<br>• පූජා උදව් සමිතියට බැඳී සේවය කිරීම<br>• ජනවන්දනා පිළිවෙත්වලට භක්තියෙන් සහභාගි වීම<br>• ජනවන්දනාව අර්ථවත් ව කිරීමට පියතුමාට සහාය වීම<br>• ගායනා කණ්ඩායමෙහි ක්‍රියාකාරි සාමාජිකයකු වීම | • ආගමික සමිති සමාගම්වල නිලතල භාර ගෙන වගකීමෙන් කටයුතු කිරීම<br>• පාසල්වල නායකත්වය ගනිමින් සේවය කිරීම<br>• දහම් පාසල්වල කටයුතුවලට සහාය වීම<br>• අසරණ අයට යහපත සැලසෙන ස්වේච්ඡා, ශ්‍රමදාන කටයුතු සංවිධානයට සහාය වීම |

## පොදු පූජකවරයෙන් පැවරෙන වගකීම් ඉටුකිරීමට සහාය වන සමිති සමාගම්

එකිනෙකා වෙනුවෙන් යැදීම

ජේසුස් වහන්සේගේ ආදරය අන් අයට බෙදා දීම

ආදර්ශවත් ජීවිතයක් ගත කිරීම

සාංඝික ජීවිතයකට සාක්ෂි දැරීම

**ධර්මදූත ළමා සමාජය**

දේවස්ථානය පිරිසිදු ව තබා ගැනීම

දිව්‍ය පූජාවට භක්තියෙන් උදව් වීම



**පූජා උදව් සමිතිය**

පිරිසිදු ඇඳුමෙන් දිව්‍ය පූජාවට උදව් වීම

දේව ප්‍රසාද නිධාන දානය කිරීමේ දී පියතුමාට සහාය වීම

මනා පෞරුෂයක් ගොඩනඟා ගැනීම

දේව රාජ්‍යයේ සේවය සඳහා තම හැකියා දියුණු කර ගැනීම



ළමා ක්‍රියාකාරී වීරයෝ

ශ්‍රමදාන කටයුතුවලට සහභාගි වීම

ආගම් භේදයකින් තොර ව සුහද ව කටයුතු කිරීම

ජනවන්දනාව අර්ථවත් කිරීම සඳහා ගායනයෙන් හා වාදනයෙන් සහාය වීම

නිසි පුහුණුවකින් යුතුව ගායනා කිරීම



ගීතිකා කණ්ඩායම

දේව වචනය කියවීමට සහාය වීම

තම හැකියා දක්ෂතා දේව ප්‍රශංසාව සඳහා යොදා ගැනීම

මෙම ගීතිකාව කටපාඩම් කරගන්න.

යන්නට ජේසුගෙ අඩිපාරේ - එතුමන් හට කරනට සේවේ
ඒ වෙනුවෙන් පුදනට ජීවේ - උගනිමු අපි සැම සවිය යොද

දෙස බස ගැන ආදරවන්න - ගම දියුණුව ගැන වෙහෙසෙන්න
මිතුරුකමින් එකමුතු වන්න - උගනිමු අපි නිති සතුට වඩා

(කිතුනු ළමා ගී - අංක 9)

**ක්‍රියාකාරකම**

1. පොදු පූජකවරයෙන් ඔබට පැවරෙන වගකීම් ලියා, ඒවා ඉටු කිරීම සඳහා ඔබ තෝරා ගන්නා මීසමේ ක්‍රියාත්මක වන සමිතියක් නම් කරන්න.
2. පොදු පූජකවරයෙන් පැවරෙන වගකීම් ඉටු කරන ආකාරය කරුණු **හයකින්** ලියන්න.
3. මීසමේ ක්‍රියාත්මක සමිති සමාගම්වලින් ඔබ එක්වීමට කැමති සමිතියක් නම් කර එයට කැමති වීමට හේතුව ලියන්න.



**ජීවිතයට බිඳක්**

***මීසමේ ඇති ළමා සමිති සමාගම්වලට බැඳී සේවය කරන්න.***

# 14 ආශිර්වාදකාර බන්ධනය



14.1 රූපය - ආශිර්වාදකාර බන්ධනය නමැති දේව ප්‍රසාද නිධානය දනය කිරීම

ඔබ ඉහත පින්තූරවලින් දකින්නේ ආශිර්වාදකාර බන්ධනය නමැති දේව ප්‍රසාද නිධානය දනය කෙරෙන ආකාරය යි. ආශිර්වාදකාර බන්ධනය නමැති දේව ප්‍රසාද නිධානය දනය කරනු ලබන්නේ දේවස්ථානයක දී ය. ආශිර්වාදකාර බන්ධනය ජනතා සේවයේ දේව ප්‍රසාද නිධානයකි. එය දෙවියන් වහන්සේ විසින් ලෝකාරම්භයේ දී ස්ථාපිත කරන ලද ශුද්ධ වූ බන්ධනයකි. මෙම බයිබල් පාඨය තුළින් එය පැහැදිලි වේ: "දෙවි සමිඳාණන් වහන්සේ කතා කොට, මිනිසා තනි ව විසීම සුදුසු නැත; ඔහුට සුදුසු සහකාරියක මවා දෙන්නෙමි" යි වදාළ සේක" (උත්පත්ති 2:18). එය දෙවියන් වහන්සේ ඉදිරියේ ද කිතුනු ජනතාව ඉදිරියේ ද දනය කෙරන දේව ප්‍රසාද නිධානයකි. දෙවියන් වහන්සේ විවාහ වන යුවළට ආශිර්වාද කරන සේක.

ආශිර්වාදකාර බන්ධනය ගිවිසුමකි. ගිවිසුමක් නම් ප්‍රේමයේ බන්ධනයකි. එම නිසා විවාහ වන යුවළ ප්‍රේමයෙන් සහ සහයෝගයෙන් කටයුතු කළ යුතු ය. ගිවිසුමකට පාර්ශව දෙකක් සිටිති. විවාහයේ එම පාර්ශව දෙක නම් මනාලයා හා මනාලිය යි. ගිවිසුමක සාක්ෂිකරුවෝ සිටිති. මෙහි ද

පූජාප්‍රසාදීතුමා ⟶ ශුද්ධ වූ සභාවේ නිල සාක්ෂිකරුවා

රැස් ව සිටින නෑදෑ හිතමිතුරෝ ⟶ සමාජය වෙනුවෙන් සාක්ෂි දරති.

(ඒ අතරින් දෙදෙනෙක් වගකිව යුතු සාක්ෂිකරුවන් ලෙස විවාහ ලියාපදිංචි ලේඛනයෙහි අත්සන් තබති).

## කිතුනු විවාහයේ ලක්ෂණ

1. ඒකත්වය

   මින් අදහස් වන්නේ එක් ස්වාමි පුරුෂයෙකුට එක් භාර්යාවක් ද එක් භාර්යාවකට එක් ස්වාමි පුරුෂයෙක් ද පමණක් විවාහ කර ගත හැකි බව ය. විවාහ වන යුවළ තම සතුට සහ දුක එකිනෙකා සමග බෙදා ගනිමින් ජීවිත කාලය තුළ ම එකට ප්‍රේමයෙන් හා සහයෝගයෙන් ජීවත් වෙති. ඔවුහු විවාහයේ ප්‍රසාද නිධානයට තම අන්‍යෝන්‍ය ප්‍රේමය හා කැපවීම තුළින් සාක්ෂ්‍ය දරන්නෝ ය.

2. අඛණ්ඩභාවය

   විවාහක යුවළ තම ජීවිත කාලය ම එනම්, මරණය දක්වා ම එකට ජීවත්වීම අඛණ්ඩභාවය යි. එය විවාහයේ කැඳවීමේ හා ජීවිතයේ ශක්තිමත් පදනම හා අලංකාරබව විදහා දක්වයි. කිතුනු විවාහය තුළ දික්කසාදයකට අවසර නැත. පහත ශුද්ධ බයිබල් පාඨය එය තවදුරටත් තහවුරු කරයි.

> මෙසේ ඔව්හු එවක් පටන් දෙදෙනකු නොව එක් කෙනෙක් වෙති. එබැවින් දෙවියන් වහන්සේ එක් කළ අය මනුෂ්‍යයා වෙන් නොකෙරේවා!
>
> (මතෙව් 19:6)

## දෙමව්පියන්ගෙන් දරුවන්ට ඉටුවිය යුතු යුතුකම්



14.2 රූපය - අධ්‍යාපනය ලබා දීම

- දරුවන්ට අවශ්‍ය ආදරය, රැකවරණය, මගපෙන්වීම හා පෝෂණය ලබා දීම
- දරුවන්ගේ ශාරීරික, මානසික හා ආධ්‍යාත්මික අවශ්‍යතා සපුරාලීම
- නියමිත වයසේ දී දරුවනට දේව ප්‍රසාද නිධාන ලබා දීම
- දරුවන් කතෝලික විශ්වාසය තුළ ඇති දැඩි කිරීම
- දරුවනට පූර්ණ අධ්‍යාපනයක් ලබා දීම
- කතෝලික ධර්මය විෂයක් ලෙස උගන්වන පාසල්වලට දරුවන් ඇතුළත් කිරීම
- කතෝලික පරිසරයක් තුළ දරුවනට අධ්‍යාපනය සහ ජීවිත හැඩගැස්ම ලැබීමට අවස්ථාව සලසා දීම
- තම වගකීම් නිසියාකාර ව ඉටු කරන දරුවන් ලෙස ඔවුන් ඇති දැඩි කිරීම
- යහපත් පුරවැසියකු ලෙස ජීවත් විය හැකි දරුවකු ලෙස හදාවඩා ගැනීම.

## දරුවන්ගෙන් දෙමව්පියනට ඉටු විය යුතු යුතුකම්



14.3 රූපය - වියපත් වූ මවට සැලකීම

- දෙමව්පියනට ගරු කිරීම හා කීකරු වීම
- දෙමව්පියන්ගේ වැඩවලට උදව් කිරීම
- දුක්වේදනා හා අසනීපවල දී පිහිට වීම
- වියපත් වූ දෙමව්පියනට සැලකීම
- තම බාල සොහොයුරන් රැකබලා ගැනීම
- හොඳින් අධ්‍යාපනය ලබා ගැනීම
- නිතර දෙමව්පියන් සතුටු කිරීම

- සහෝදර සහෝදරියන් සමග සාමයෙන් ජීවත් වීම.
- දෙමව්පියන් සහ සහෝදර සහෝදරියන් වෙනුවෙන් යාච්ඤා කිරීම.

### ශුද්ධ වූ පවුලෙන් කිතුනු පවුලකට ලබාගත හැකි ආදර්ශ



14.4 රූපය - ශුද්ධ වූ පවුල

1. මරිය තුමියට මංගලම් කී අවස්ථාවේ දී "ඔබ කී වචනය ලෙස මට ඉටු වේවා"යි මරිය තුමිය කීවා සේ පවුලේ සියලු දෙනා දේව කැමැත්තට හිස නැමිය යුතු ය. (ලූක් 1:38)
2. මරිය තුමිය දෙව්මව් වුව ද බැහැපත් ව තම ඥාතිවරිය වන එලිසබෙත් තුමිය බැහැදැක්මට ගියා සේ අන් අයට පිහිට විය යුතු ය.
3. පවුලේ ප්‍රධානියා ලෙස ජුසේ තුමා තම බිරිඳ හා දරුවා ආරක්ෂා කිරීමට තම සැප නින්ද පවා අමතක කර ඔවුන් ආරක්ෂිත ස්ථානයකට රැගෙන යාම තුළින් පිතෘ සෙනෙහස ගෙනහැර දක්වයි.
4. ශුද්ධ වූ පවුල ජේසුස් වහන්සේ ව කැප කිරීමට දේව මාලිගයට යාම තුළින් නීතියට ගරු කරමින් ආදර්ශවත් කිතුනු ජීවිතයක් ගත කළ බව පැහැදිලි ය.
5. දේව මාලිගාවේ දී නැතිවුණ ජේසු කුමරු සෙවීම තුළින් මව සහ පියා දරුවන් කෙරෙහි දක්වන ආදරය පැහැදිලි ය.
6. මවට සහ පියාට ජේසුස් වහන්සේ දේව පුත්‍රයාණන් වුව ද කීකරු වූ සේක.
7. ජේසුස් වහන්සේ ප්‍රඥා මහිමයෙන් හා කාය ශක්තියෙන් වර්ධනය වී දෙවියන් වහන්සේගෙන් හා මනුෂ්‍යයාගෙන් ප්‍රසාදය ලබමින් වැඩුණු සේ දරුවන් අද තම දෙමාපියන්ගේ ආශාවන් හා අරමුණු ඉටු කළ යුතු

බව පැහැදිලි ය. හොඳින් ඉගෙන ගෙන, යහපත් දරුවෙක් ලෙස ජීවත් වෙමින් සමාජයේ ප්‍රසාදය ලැබිය යුතු ය.

8. ජේසුස් වහන්සේ තම මවගේ ඉල්ලීමට කීකරුවීම හා අන් අයට පවුලක් ලෙස උදව් වූ ආකාරය කානා නුවර මගුල් ගෙදර සිද්ධිය අපට පෙන්වයි.
9. ජේසුස් වහන්සේගේ කුරුසිය පාමුල දේව මෑණියෝ සිටියා සේ පවුලේ කෙනෙකු විපතට පත්වන අවස්ථාවක පවුලේ අය ඔවුන් අත්නොහැර ඔවුනට සැනසීමක් විය යුතු බව ශුද්ධ වූ පවුල පවසයි.
10. කුරුස ගසේ දී ජේසුස් වහන්සේ තම ප්‍රේම කළ ශ්‍රාවකයාට තම මව වන මරිය තුමිය භාර දෙන සේක. ඒ තුළින් තමා මෙලොවෙන් සමුගත් පසු තම මව තනි විය යුතු නැතැයි සිතූ ජේසුස් වහන්සේ මවට සුදුසු රැකවරණයක් ලබා දෙන සේක. මේ තුළින් මහලු වියට පත්වන දෙමව්පියනට රැකවරණයක් ලබා දිය යුතු බව ජේසුස් වහන්සේ අපට මතක් කරන සේක.

එබැවින් කිතුනුවන් වන අප ද ශුද්ධ වූ පවුල ආදර්ශයට ගනිමින් දේව කැමැත්තට අවනත ව දෙවියන් වහන්සේගේ සැලැස්මට අනුව අපගේ පවුලේ පසුබිම තුළ ජීවත් විය යුතු ය.

**ක්‍රියාකාරකම**

1. ආශිර්වාදකාර බන්ධනය පිළිබඳ කරුණු ගොනුකර බිත්ති පුවත් පතකට ලිපියක් සකස් කරන්න.
2. ශුද්ධ වූ පවුලෙන් කිතුනු පවුලකට ගත හැකි ආදර්ශ **හතරක්** ලියන්න.
3. ශුද්ධ වූ පවුලෙන් ලැබෙන ආදර්ශ ජීවත් කරවන ආකාර **පහක්** ලියන්න.
4. දෙමව්පියන්ගේ කටයුතුවලට ඔබ සහාය වන ආකාර **පහක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

***ශුද්ධ වූ පවුලේ ගුණාංග ඔබ තුළ වර්ධනය කරන්න.***

# 15 මව්පියන්ට සංග්‍රහ කරමු



15.1 රූපය - දෙමව්පියන් නැමදීම

දස මස මා ඔබ කුසේ දරා - මා හැදූ මගේ අම්මා
තුරුලේ හොවාලා මා ඇති දැඩි කළ - මගේ ආදර අම්මා

ආදර දෙවි සමිඳේ - මගේ ආදර අම්මා
ඔබගේ රැකවරණේ - සුරකිනු මැන සැමදා

දුක් කරදර මැද වෙහෙස දරා - මා හැදූ මගේ තාත්තා
දහදිය හෙළලා මා ඇති දැඩි කළ - මගේ ආදර තාත්තා

ආදර දෙවි සමිඳේ - මගේ ආදර තාත්තා
ඔබගේ රැකවරණේ - සුරකිනු මැන සැමදා

නොයෙකුත් බාධක සිඳ බිඳලා - මගේ මව්පියෝ දෙන්නා
සැමදා දෙවිඳුන් රැකවරණය තුළ - වැජඹේවා සැමදා

ආදර දෙවි සමිඳේ - මගේ මව්පියො දෙදෙනා
ඔබගේ රැකවරණේ - සුරකිනු මැන සැමදා

("යාග ගී 3" පොතේ 14 පිටුව)

ගුරුතුමිය :- මේ ගීතිකාව ගායනා කරද්දී, ඔයාලට මොනවද හිතුණේ?

නිර්මාල් :- අපේ දෙමව්පියන් වෙනුවෙන් දෙවි පියාණන්ට යාච්ඤා කරන්න ඕනේ කියලා.

රෙබේකා :- දෙමව්පියන් අපට ගොඩාක් ආදරය කරනවා. රැකබලා ගන්නවා. ඒ නිසා අපිත් අපේ දෙමව්පියන්ට ආදරය කරන්න ඕනා. කීකරු වෙන්නත් ඕනා. එහෙම නේද ටීචර්?

ගුරුතුමිය :- ඔයාලා හරියට ම හරි දරුවනේ, දෙවි පියාණන් වහන්සේගෙන් අපට ලැබුණු ජීවිතය හා විශ්වාසය යන ඉතා වටිනා තිළිණ දෙක ම ලැබුණේ අපේ දෙමව්පියන්ගෙන්, ඒ නිසා දෙවි පියාණන් වහන්සේට පසු අපි වැඩිපුර ම ආදරය හා ගෞරවය දක්විය යුත්තේ දෙමව්පියන්ට යි.

රෙබේකා :- ටීචර්, දස පනතේ සතරවන පනතින් කියන්නෙත් දෙමව්පියන්ට ගරු කරන්න කියල නේද?

ගුරුතුමිය :- ඔව්, රෙබේකා දස පනත ප්‍රධාන කොටස් දෙකකට බෙදන්න පුළුවන්. පළමු කොටසින් දෙවි පියාණන් වහන්සේට වන්දනා කරන ආකාරයත් දෙවන කොටසින් අසල්වැසියාට ප්‍රේම කළ යුතු ආකාරයත් කියා දෙනවා. ඒ අනුව දෙවන කොටසේ දී මුලින් ම මව්පියන්ට සංග්‍රහ කරන්න අපට උගන්වන්නේ. මේ පනත කොතරම් වැදගත් ද කියලා දැන් ඔයාලට හොඳට ම තේරෙනවා නේ ද?

නිර්මාල් :- ටීචර්, දවසක් අපේ ෆාදර් දේශනාවක දී කිව්වා හතරවන පනතට අනුව දෙමව්පියන්ට වගේ ම අපේ ආගමික නායකයන්ටත්, ගුරුවරුන්ටත්, වැඩිහිටියන්ටත්, ඒ වගේ ම රාජ්‍ය නායකයන්ටත් අපි ගෞරව කරන්න ඕනේ කියලා.

ගුරුතුමිය :- ඔයා හරි නිර්මාල්, සතරවන පනතින් මේ සියලු දෙනාට ම ගරු කරන්න කීකරු වෙන්න අපට කියලා දෙනවා. එහෙම නම් දරුවනේ, අද ඉඳලා නිවසේ දී පාසලේ දී හා දේවස්ථානයේ දී සමාජයේ දී මව්පියන්ට සංග්‍රහ කිරීමේ දේව පනතට අනුව ජීවත් වන්න උත්සාහ කරන්න.

ඉහත දෙබසින් "මව්පියන්ට සංග්‍රහ කිරීමේ" පනත ඉතා පැහැදිලිව ම ඉදිරිපත් කර ඇත. එසේ ම අද සමාජයේ මෙම පනත කඩකරන අවස්ථා බොහෝමයක් ඇත. එවන් අවස්ථාවල දී ඒ පිළිබඳ අවධානය යොමු කර මෙම පනත කඩ කරන අයට එය පහදා දී, ඔවුනට දේව දරුවන් ලෙස ජීවත්වීමට මඟ පෙන්වීම ඔබ සතු වගකීමකි. සතරවන පනතට අනුව කිතුනු දරුවකු ලෙස ඔබ ඉටු කළ යුතු යුතුකම් පහත වගුවේ දැක්වේ. ඒවා ඔබගේ ජීවිතය තුළ ක්‍රියාත්මක කිරීමට උත්සාහ කරන්න.

| | |
|---|---|
| දෙමව්පියන් වෙනුවෙන් යුතුකම් | ★ ඔවුනට ගෞරව දැක්වීම සහ කීකරු වීම<br>★ නිවසේ වැඩ කටයුතුවලට උදව් වීම<br>★ නිවසේ ඇති අඟහිඟකම් හා අපහසුතාවන් තේරුම් ගෙන කටයුතු කිරීම<br>★ දෙමව්පියන්ගේ අසනීප හා ප්‍රශ්නවල දී ඔවුනට පිහිට වීම<br>★ දෙමව්පියන් වියපත් වූ විට, අසරණ වීමට ඉඩ නොදී, හොඳින් රැකබලා ගැනීම<br>★ දෙමව්පියන් වෙනුවෙන් දිනපතා යාච්ඤා කිරීම |
| ගරු පූජාප්‍රසාදිතුමන්ලා හා ගරු පැවිදි සොයුරු සොයුරියන් උදෙසා යුතුකම් | ★ ගරු පූජාප්‍රසාදිතුමන්ලාට සහ ගරු පැවිදි සොයුරු සොයුරියනට ගරු කිරීම හා කීකරු වීම<br>★ මිසම් භාර පූජාප්‍රසාදිතුමන්ලාට මිසමේ කටයුතුවල දී සහාය දැක්වීම<br>★ මිසමේ ඇති ගිහි අපෝස්තලික සේවාවනට සම්බන්ධ වී සේවය කිරීම<br>★ ජනවන්දනාවට හා ධර්මොපදේශ සේවාවට ක්‍රියාකාරී ව සම්බන්ධ වීම |
| පාසල වෙනුවෙන් යුතුකම් | ★ විදුහල්පතිතුමා/තුමියට, ගුරුවර-ගුරුවරියනට ශිෂ්‍ය නායක-නායිකාවනට ගරු කිරීම හා කීකරු වීම<br>★ පාසල තුළ තම වගකීම් හා යුතුකම් උපරිමයෙන් ඉටු කිරීම<br>★ පාසලේ නීති රීතිවලට අවනත වීම<br>★ පෙළපොත්, පුස්තකාල පොත් හා වෙනත් පොදු භාණ්ඩ ආරක්ෂා කිරීම |

| | |
|---|---|
| රට වෙනුවෙන් යුතුකම් | ★ රටේ පාලකයනට ගරු කිරීම හා ඇගයීම<br>★ රටේ ජනතාව සහ නායකයන් වෙනුවෙන් යාච්ඤා කිරීම<br>★ රාජ්‍ය හා පොදු දේපළ ආරක්ෂා කිරීම<br>★ ස්වභාවික සම්පත් අරපිරිමැස්මෙන් යුතු ව භාවිත කිරීම<br>★ රටේ සිවිල් නීතිය පිළිපැදීම<br>★ රටේ සංවර්ධනය සඳහා කුසලතා, දැනුම යෙදවීම<br>★ රටේ සාමය සඳහා කැපවීම |

### සතරවන පනත ජීවත් වීමට මගේ පොරොන්දුව

මම, මාගේ දෙමව්පියන්ට පූජක-පැවිදි උතුමන්ලාට ගුරුවර-ගුරුවරියන්ට, වැඩිහිටියන්ට හා පාලකයන්ට කීකරු වෙමි; ආදරය කරමි; ගෞරව කරමි. ඒ සැමදෙනා වෙනුවෙන් හා මගේ මීසම් සංඝය, පාසල් මාතාව හා මාතෘ භූමිය උදෙසා මගේ යුතුකම් කුඩා කල සිට ම නොපිරිහෙළා ඉටු කිරීමට මම පොරොන්දු වෙමි

**ක්‍රියාකාරකම**

1. සතරවන පනතින් කරන මඟපෙන්වීම් **පහක්** ලියා දක්වන්න.
2. "මව්පියන්ට සලකමු" යන මාතෘකාව යටතේ, ඔබේ පන්ති කාමරයේ බිත්ති පුවත් පතක් නිර්මාණය කරන්න.



**ජීවිතයට බිඳක්**

★ *පවුලේ අය හෝ ගුරුතුමා/තුමිය සමග වැඩිහිටි නිවාසයක් නැරඹීමට යන්න. එහි දෙමව්පියන් සමග කතා කරන්න; ඔවුනට සවන් දෙන්න.*

★ *දිනපතා නිවසින් පිටවීමට පෙර, දෙමව්පියන් නැමදීමට පුරුදු පුහුණු වන්න.*

# 16 බොරු සාක්ෂි නොකියව

හිරාන් තම අධ්‍යාපන කටයුතු අතර මග දී කඩාකප්පල් කරගත් විසිවන වියේ තරුණයෙකි. පාසල් අවධියේ සිට ම විවිධ දුරාචාරයනට ඇබ්බැහි වූ නිසා මුදල් අවශ්‍යතා ඔහුට තදින් ම දැනිණි. ඒ වෙනුවෙන් ඕනෑ ම දෙයක් කිරීමට ඔහු ඉදිරිපත් විය.

ඔහු වකුගඩු රෝගීන්, දරුණු රෝගාබාධයන්ගෙන් පෙළෙන රෝගීන් වාහනයක දමා බොහෝ දුර පළාත්වලට ගොස් ඔවුන් ව පෙන්වා මුදල් එකතු කළේ ය. ඇතැම් දිනවල රෝගීන් නොමැති ව ඔවුන්ගේ වෛද්‍ය වාර්තා දවසේ කුළියට මිලට ගෙන ගමින් ගමට ගියේ ය. කාලයක් තිස්සේ බොරු කියමින් සිඟමනේ ගිය හිරාන් බලාපොරොත්තු නොවූ ආකාරයට ඔහුගේ කපටි ක්‍රියාව දිනක් පොලිසියට හසුවිය. අනුන් රැවටීමට උපන් හපනෙකු වූ හිරාන්ට පොලිස් නිලධාරීන් රැවටීමට එදින නොහැකි විය.

(2014.12.21 ලංකාදීප පුවත්පතෙන් උපුටාගත් සත්‍ය සිදුවීමක් ඇසුරිනි)

"ඇත්ත කියන්නත් බිම ඉඳගන්නත් ඇයි බිය වෙන්නේ" හා "පැත්ත ගියත් ඇත්ත කියමු". යනාදි කියමන් සත්‍යගරුක බව අවධාරණය කරයි. එපමණක් නොව සත්‍යවාදී ලෙස දිවි ගෙවන අයට සමාජය ගරු කරයි. දෙබිඩි ජීවිත ගත කරන අය සමාජය පිළිකුල් කරයි. දස පනතේ, අටවන පනතින් සත්‍යය ප්‍රකාශ කිරීමටත් සත්‍යවාදී ව ජීවත් වීමටත් උගන්වයි. එලෙස ම ප්‍රසාද ස්නාපනීය කැඳවීම තුළින් දේව දරුවන් ලෙස "සත්‍යය" වූ දෙවියන් වහන්සේ අනුගමනය කිරීමටත්, සත්‍යගරුක ව දිවි ගෙවීමටත් කැඳවනු ලබයි.

ශුද්ධ බයිබලයට අනුව ද බොරු කීම බරපතළ පාපයකි. එබැවින් ශුද්ධ වූ සභාවට බොරු කියූ අනනියස් හා සපිරා ව හදිසි මරණයකට ගොදුරු විය (ක්‍රියා 5:1-11). දස පනතේ අටවන පනතින් ද එය තහනම් කරන්නේ මෙලෙසිනි.

නුඹේ අසල්වැසියාට විරුද්ධ ව බොරු සාක්ෂි නොකියව.
(නික්මයාම 20:16)

නුඹේ අසල්වැසියාට විරුද්ධ ව බොරු සාක්ෂි නොකියන්න.
(ද්විතීය 5:20)

මේ අනුව දස පනතින් අසල්වැසියාට විරුද්ධ ව බොරු සාක්ෂි නොකිය යුතු බව උගන්වයි. තව ද දිවුරුම් කඩ නොකර ස්වාමීන් වහන්සේට දුන් දිවුරුම ඉටු කළ යුතු බව සිහි ගන්වයි.

ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් අනුවත් බොරු කීම මිනිසා කෙලසනු ලැබීමට හේතුවන බව අවධාරණය කරයි.

මිනිසා කෙලෙසනු ලැබීමට හේතු වන්නේ කටට ඇතුළු වන දේ නොව, කටින් නික්මන දේ ය. කටින් පිටවන දේ නික්මෙන්නේ සිතින් ය. මිනිසා කෙලෙසනු ලබන්නේ එයින් ය. නපුරු චේතනා, මිනීමැරුම්, කාමරාග, සල්ලාලකම්, සොරකම්, බොරු සාක්ෂි හා අපහාස නික්මෙන්නේ හදවතින් ය. මිනිසා කෙලසනු ලබන්නේ මෙකී දේවලිනි.
(මතෙව් 15:10-20)

ඉහතින් දක්වා ඇති ශුද්ධ බයිබලීය පාඨවලට අනුව බොරු සාක්ෂි කීමට මුල්වන "සිතුවිලි" ගැන කතා කරයි. බොරු සාක්ෂි කීමට අප යොමු කරන්නේ "සාතන්" හෙවත් "නපුරේ බලවේගය" බව පහත පාඨය පෙන්වා දෙයි.

ඔබේ පියා යක්ෂයා ය. එබැවින් ඔබේ කැමැත්ත ඔබේ පියාගේ ආශාවන් ඉටු කිරීම ය. මුල සිට ම ඔහු මිනීමරුවෙකි. සත්‍යය ඔහු තුළ පිහිටා නැති බැවින්, ඔහු සත්‍යයෙහි නොපිහිටියේ ය. ඔහු බොරු කියන කල ඔහුගේ නියම ගතියෙන් ම කතා කරයි. මන්ද, ඔහු බොරුකාරයෙකි. ඔහු බොරුවේ පියා ය.
(ජොහන් 8:44)

තව ද, ශුද්ධ වූ පාවුලු තුමා, එපීස ලිපියෙන් බොරු කීම අත්හැර දමා සත්‍යය කතා කළ යුතු බව අවධාරණය කරයි.

බොරුකීම අත්හැරදමා අසල්වාසි එකිනෙකා සමග සත්‍යය කතා කරන්න. මන්ද, අපි එකිනෙකා අන්‍යොන්‍ය අවයවයෝ වෙමු.

(එපීස 4:25)

කතෝලික සභා ධර්මෝපදේශය අනුව අසල්වාසීන් සමග අපේ සම්බන්ධතාවල දී සත්‍යය විකෘති කිරීම අටවන පනතට විරුද්ධ බව පෙන්වා දෙයි. එසේ ම පරම සත්‍යය වූ මහෝත්තම දෙවියන් වහන්සේට සාක්ෂි දැරීමට නම් වචනයෙන් හා ක්‍රියාවෙන් අවංක විය යුතු බවත්, හෘද සාක්ෂියේ සදාචාරාත්මක නීතිය අනුගමනය කළ යුතු බවත් පෙන්වයි.

අසල්වාසීන් සමග අප පවත්වන සම්බන්ධතාවල දී සත්‍යය විකෘති කිරීම අටවන පනතින් තහනම් කෙරේ. වචනයෙන් හෝ ක්‍රියාවෙන් හෝ සත්‍යයට එරෙහිව නැගීසිටීම, හෘද සාක්ෂියත්, සදාචාරාත්මක අවංකභාවයත් ප්‍රතික්ෂේප කිරීමකි. මෙය මූලික වශයෙන් දෙවියන් වහන්සේට ද්‍රෝහිවීමක් ද වේ.

(ක.ස.ධ. 2464)

හෘද සාක්ෂිය දේව හඬ යි.
සැම විට ම එයට සවන් දී
ජීවත් වන්න.

එබැවින්, ප්‍රසාද ස්නාපනීය කැඳවීම තුළ අපගේ දේව පුත්‍රභාවය පිළිගනිමින් සත්‍ය ගරුක සමාජයක් බිහි කරනු සඳහා අපි සැවොම කැප විය යුතු වෙමු.

සත්‍යගරුක සමාජයක් ගොඩනැංවීමට ඔබට බොහෝ දේ කළ හැකි ය.

සැම විට ඇත්ත කථා කිරීම

අවංක වීම

මට කරන්න පුළුවන්

අසත්‍ය තොරතුරු ප්‍රචාරය නොකිරීම

මා නොදන්නා දේවල් හා පුද්ගලයන් ගැන කතා නොකිරීම

**ක්‍රියාකාරකම**

පවුල, පාසල, මීසම හා සමාජය තුළ සත්‍යගරුක බව ගොඩනැගීමට ඔබට දායක විය හැකි ආකාර දෙමව්පියන් සමග සාකච්ඡා කර පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| නිවසේ දී කළ හැකි දෑ | පාසලේ දී කළ හැකි දෑ | මීසම තුළ කළ හැකි දෑ | සමාජය තුළ කළ හැකි දෑ |
|---|---|---|---|
| 1. ................ | 1. .............. | 1. .............. | 1. ............... |
| 2. ............... | 2. ............. | 2. ............. | 2. ............... |
| 3. .............. | 3. ............. | 3. ............. | 3. ............... |
| 4. ............. | 4. ............. | 4. ............. | 4. .............. |
| 5. ............. | 5. ............ | 5. ............. | 5. .............. |



**ජීවිතයට බිඳක්**

*සැම විට ම සත්‍යය කතා කරන්න. ඒ අනුව ජීවත් වන්න.*

# 17 සොරකම් නොකරව



දුවේ, පුතේ, ඔබ වඩාත් ආදරෙන් ආශා වෙන් ආරක්ෂා කළ දෙයක් ඔබට අහිමි වුවහොත්; පුංචි ඔබට දුකක් දැනෙනවා නේ ද? මොහොතක් සිතන්න. ඔබ තවත් කෙනකුගේ දෙයක් සොරා ගතහොත්; ඒ පුද්ගලයාටත් ඇතිවන්නේ ඔබට දැනෙන දේම මිස අන් කවරක් ද? එබැවින්, දේව දරුවන් ලෙස, කුඩා කල සිට ම සත්වන පනත ආරක්ෂා කිරීමට පුරුදු පුහුණු විය යුතු ය. සත්වන පනත නම්, "සොරකම් නොකරව" යන්න යි. අන් අය සතු දේපළ අයුතු ලෙස තබා ගැනීම හා අලාභහානි කිරීම මෙම පනතින් තහනම් කරයි. එබැවින් සෙල්ලමටවත්, විනෝදයටවත්, විහිළුවටවත් අන් සතු දේ සොරා ගැනීමෙන් වැලකී සිටීමට සිතට ගන්න.

එදිනෙදා ජීවිතයේ දී අපට විවිධ ආර්ථික අමාරුකම් ඇති විය හැකි ය. එහෙත් එම අවස්ථාවල දී අප අන් අය සතු දේ සොරා නොගත යුතු ය. ඒ සඳහා අප ආත්ම දමනය යන ධර්ම ගුණය ප්‍රගුණ කළ යුතු වෙමු. තව ද සාධාරණත්වය යන ධර්ම ගුණය ප්‍රගුණ කිරීම අසල් වැසියාගේ අයිතිවාසිකම් ආරක්ෂා කිරීමටත්, ඔහුට ලැබිය යුතු දෙය දීමටත් අප පුහුණු වේ. එවිට අපට සත්වන පනත ආරක්ෂා කිරීමට පහසු වනු ඇත.

ඒ අනුව අනුන්ගෙන් ඉල්ලා ගත් දෙය හැකි විගස ඔහුට නැවත ලබා දෙන්න. අනුන්ගේ දෙයක් අහුලාගත් විගසින් එය අයිතිකරුවාට හෝ බලධාරියකුට (උදාහරණ :- විදුහල්පතිතුමාට, ගුරුතුමෙකුට) භාර දෙන්න. ජේසුස් වහන්සේ සකේවුස්ට ප්‍රශංසා කළේ ද ඔහු සොරකම අතහැර යහපත් පුද්ගලයකු වීමට ජේසුස් වහන්සේට දුන් පොරොන්දුව නිසා ය: "මම යමකුගෙන් අයුතු ලෙස යමක් ගෙන තිබේ නම් ඔහුට සතර ගුණයක් ආපසු දෙමි" (ලූක් 19:8). ඔහු ස්වෙච්ඡාවෙන් ම තමා කළ සොරකමට වන්දි ගෙව්වේ ය. ඔබටත් දේව දරුවකු විය හැක්කේ වරදක් සිදු වී නම් එය නිවැරදි කර ගැනීමෙනි. එයට වන්දි ගෙවීමෙනි.

මා සතු සියලු දේට මම ආදරය කරමි; ආරක්ෂා කරමි.

එසේ ම →

අන් අය සතු දෑ මම අගය කරමි; ආරක්ෂා කරමි.

ඒ අනුව, වස්තුව, දේපළ අප ලබා ගත යුතු වන්නේ;

- ★ අවංකව වැඩ කිරීමෙන්
- ★ කැපවීමෙන් සහ වෙහෙස මහන්සියෙන්
- ★ මිලට ගැනීමෙන්
- ★ හුවමාරුකර ගැනීමෙන්
- ★ තෑගි වශයෙන්
- ★ උරුම වශයෙන්

මෙවැනි අවංක හා සාධාරණ මාර්ගවලට අමතර ව අන් කිසි ක්‍රමයකින් දේපළ වස්තුව රැස් කිරීම බරපතල වරදකි. දේව දරුකම ප්‍රතික්ෂේප කිරීමකි.

මෙම පනතින් තහනම් වන දෑ

- ★ සොරකම් කිරීම
- ★ බලහත්කාරයෙන් ගැනීම
- ★ අසාධාරණයෙන් ගැනීම
- ★ අන් සතු දේපළ විනාශ කිරීම

අද සමාජය තුළ සොරකම් සිදුවෙන වෙනත් ආකාර පහත දැක්වේ.

**සොරකම සිදුවන වෙනත් ආකාර**

- ප්‍රයෝග (කූට උපක්‍රම)
- වංචනික ක්‍රියා
- අල්ලස් ගැනීම
- සේවකයනට සාධාරණ වැටුපක් නොගෙවීම
- භාණ්ඩවල ගුණාත්මක බව අඩු කිරීම

සියලු වස්තුවල හිමිකරුවාණන් වහන්සේ
දෙවියන් වහන්සේ ය.

එබැවින් සත්වන පනතින් අප බැඳෙන්නේ, දෙවියන් වහන්සේ සතු වස්තූන් ආරක්ෂා කිරීමට යි. දේව දරුවන් ලෙස, දේව අභිමතය පිළිගෙන, තමාට හිමි ව ඇති වස්තූන් සහ දේපළ අරපිරිමැස්මෙන් පරිහරණය කිරීමටත්, වංචා සහගත ලෙස වස්තුව රැස් නොකිරීමටත්, අන් සතු දේපළ විනාශ නොකිරීමටත් ක්‍රියා කළ යුතු වේ.

පුංචි ඔබට ඔබ සතු වගකීම දැන් මතක ද?

**ක්‍රියාකාරකම**

1. සාධාරණ ව වස්තුව ලබාගත හැකි මාර්ග **හතරක්** නම් කරන්න.
2. සත්වන පනත මගින් තහනම් කරන ක්‍රියා **හතරක්** ලියා දක්වන්න.
3. "සත්වන පනත රැකීමට මට කළ හැකි දේ" නමින්, වචන 50කට නොඅඩු වාක්‍ය රචනයක් ලියන්න.



**ජීවිතයට බිඳක්**

***ඔබ, ඔබේ සම්පත් ආරක්ෂා කිරීමට උත්සාහ ගන්නවා සේ ම, අන් අයගේත් සම්පත් ආරක්ෂා කිරීමට උත්සාහ කරන්න.***

# 18 අන් වස්තු ආශා නොකරව

මිනිසා තුළ ස්වභාවයෙන් ම සිත් ඇද ගන්නා දේට ආශාවක්, කැමැත්තක් හා ඇල්මක් ඇත.

උදහරණ : ප්‍රණීත ආහාරවලට දක්වන ආශාව
ලස්සන ඇඳුම්වලට ආශා කිරීම
අලංකාර නිවෙසක ජීවත් වීමේ ආශාව
සුඛෝපභෝගී රථයක හිමිකරුවකු වීමේ ආශාව

මෙම ආශාව, කැමැත්ත හා ඇල්ම හේතුකොටගෙන යම් යම් දේ තමන්ට ම කියා අයිති කර ගැනීමට මිනිසා පෙළඹෙයි. මෙම ආශාව, කැමැත්ත හා ඇල්ම තවත් කෙනෙකුට අයිති දේට ඇඳී යන විට, ඒ දේවල් තමන් වෙතට ලබා ගැනීමට අධික ආශාවක් හෙවත් තණ්හාවක් ඇති වේ. මෙලෙස තණ්හාව ඇති කර ගැනීම දසවන පනත කඩකිරීමකි. තණ්හා සිතුවිලි සොරකමට පොලඹවයි නම් එය සත්වන පනත කඩකිරීමකි.

ඒ අනුව, සත්වන හා දසවන පනත් අතර සම්බන්ධයක් ඇත. සත්වන පනතින් පුද්ගලයන් සිදු කරන ක්‍රියාව (සොරකම) තහනම් කරන අතර දසවන පනතින් එවැනි දේ කිරීමට යොමු කරන තණ්හාවට අවනත වීම පාපයක් බව උගන්වයි.

ඇමෙරිකාවේ ආදිවාසී රතු ඉන්දියානුවන් සතු ඉඩම්වලට තණ්හාව උපදවා ගත් ඇමෙරිකානු පාලකයන්ට සියැටෙල් දුන් පිළිතුරින් පෙන්වන්නේ ද තණ්හාව ඇති කර ගැනීමෙන්, පළමුව දසවන පනතත් දෙවනු ව සත්වන පනතත් කඩ කරන ආකාරය යි.

> වොෂිංටන් නගරයේ උතුමාණෙනි,
> අපේ රට මිලයට ගැනීමට ඔබතුමා කැමති බව අපට දන්වා තිබේ. ඔබතුමා අපට මිත්‍රශීලි හා හොඳ හිත ද ප්‍රකාශ කර ඇත. මෙය විකිණීමට අප කැමති නොවුනහොත් සුදු මිනිසා තුවක්කුව රැගෙන විත්, අප දේශය අල්ලා ගනු ඇතැයි අපි සිතමු.

එබැවින් අන් අයගේ වස්තුව පිළිබඳ තණ්හාවක් ඇති කර නොගෙන, ලද දෙයින් සතුටු වීමට මෙම පනතින් උගන්වයි. මේ පිළිබද ව "මහෝපදේශය" මෙසේ දනුවත් කරයි.

අනුන්ගේ දේපළ අයුතු ලෙස ලබා ගන්නට ද තබා ගන්නට ද ආශා කිරීමත් අනුන්ගේ යහපත ගැන ඊර්ෂ්‍යා කිරීමත් එයින් තහනම් වන්නේ ය.

(මහෝපදේශය අංක 360)

තමා සතු දෙයින් තෘප්තිමත් වී දිවිගෙවීමට දසවන පනත උගන්වයි. අනුන්ගේ දේපළ අයුතු ලෙස ලබා ගන්නට ද තබා ගන්නට ද ආශා කිරීමත්, අනුන්ගේ දියුණුව ගැන ඊර්ෂ්‍යා කිරීමටත් තහනම් කරයි. කුඩා පැල්පතක දිවි ගෙවන්නකු තම නිවස ඉදිරියේ ඇති අලංකාර මාලිගාවක් බඳු නිවස බලා, එයට ඊර්ෂ්‍යා නොකර, ඔවුන්ගේ දියුණුව ගැන අවංක ව සතුටු විය හැකිනම් එම තැනැත්තා සැබෑ ම ශ්‍රේෂ්ඨයෙකි.

කෙසේ වෙතත් අන් අය සතු දේ සාධාරණ මාර්ගවලින් ලබා ගැනීම මෙම පනතට විරුද්ධ පාපයක් නොවේ (ක.ස.ධ 2537). උදාහරණයක් ලෙස වෙළෙඳපොලෙන් මුදල් ගෙවා රූපවාහිනියක් මිල දී ගැනීම දැක්විය හැකි ය.

පාපය සඳහා මිනිසා යොමු කරන මුල් ම සිතුවිල්ල තණ්හාව යි. මේ සිතුවිල්ල ක්‍රියාවට පෙරලෙන අතර එම ක්‍රියාව දෙවියන් වහන්සේගෙන් ද සහෝදරයාගෙන් ද අප සැම ඈත් කරවන බව මීකා දිවැසිවරයා පෙන්වා දෙයිඃ

සිය යහන්වල වැතිර, නපුරු උපා හිතන මතන අයට වන විපතක මහත්! පහන් වූ විට ඔවුන්ගේ අතේ බලය නිසා ඔව්හු ඒවා කරති. ඔව්හු තමන් ආසා කළ කෙත් බලහත්කාරයෙන් ගනිති; ගෙවල් ද පැහැර ගනිති. ඔව්හු මිනිසුන් සහ ගේදෙර ද දේපළ ද සොරා ගනිති.

(මීකා 2:1-2)

විශ්වය, දෙවියන් වහන්සේගේ මැවිල්ල යි. එම මැවිල්ලේ හිමිකරුවාණෝ දෙවියන් වහන්සේ ය. උන් වහන්සේ සතු අයිතිය ගැන අවබෝධයකින් ක්‍රියා කිරීම සඳහා නොඇලුම් බවකින් දිවි ගෙවීමට කතෝලික සභා ධර්මෝපදේශය මඟ පෙන්වයි.

ඊර්ෂ්‍යාව මුල් අගුණ පාපයකි. අන් වස්තු ආශා කිරීමෙන් ඊර්ෂ්‍යාව හට ගනියි. එය කරණකොටගෙන තමා තුළ දුකක් හා කලකිරීමක් ඇති වේ. එහෙත් ලද දෙයින් සතුටු වන්නේ නම්, එවැනි දුකක් හෝ කලකිරීමක් ඇති නොවේ.

මිනිසුන් වන අපට යමක් ලැබී ඇත්නම්, ඒ සියල්ල ලැබුණේ, දෙවියන් වහන්සේගෙනි. මෙලොව සදාකාලික ව දිවි ගෙවීමට අපට නොහැකි ය. එබැවින් ජීවත් වන කෙටි කාලය තුළ තමන් ලද සියල්ල ගැන දෙවියන් වහන්සේට ස්තුති පූර්වක හැඟීමෙන් නිරතුරු පසසමින් දිවි ගෙවීමට මෙම පනත මඟ පෙන්වයි.

මා සතු දේ ආරක්ෂා කිරීමට කැප වන්නා සේ, අන් අයගේ දේපළ හා වස්තුව ආරක්ෂා කිරීමට කිතුනු දරුවන් ලෙස ඇති වගකීම අවබෝධ කර ගත යුතු ය.

දසවන පනත ජීවත් කරවීමට පිළිපැදිය යුතු කරුණු

- ⋆ ලද දෙයින් සතුටු වීම
- ⋆ අන් අයගේ දේ පැහැර නොගැනීම
- ⋆ වෙළඳ කටයුතුවල දී සාධාරණ ව කටයුතු කිරීම
- ⋆ ලබන වැටුපට සරිලන සේ සේවය කිරීම
- ⋆ අනුන්ගෙන් ලබා ගත් දේ ආපසු දීම
- ⋆ අනුන් සතු දේ සම්බ වූ විට ඒවා අයිතිකරුවනට ලබා දීම
- ⋆ අනුන්ගේ දියුණුවේ දී ඊර්ෂ්‍යා නොකර ඔවුන් හා සතුටු වීම

**ක්‍රියාකාරකම**

1. "අන් වස්තු ආශා නොකරව" යන මාතෘකාව යටතේ වචන 75කට නොඅඩු රචනයක් ලියන්න.



**ජීවිතයට බිඳක්**

***ලද දෙයින් සතුටු වෙමු.***

# 19 ජපමාල බැතිය



19.1 රූපය - ජපමාලය

අතිඋතුම් පස්වන පියුස් ශුද්ධෝත්තම පියතුමා ශුද්ධ වූ සභාවේ නායකත්වය දැරූ කාල වකවානුවේ දී තුර්කීය ජාතිකයන්ගෙන් ශුද්ධ වූ සභාවට තර්ජන එල්ල විය. එහෙයින් ශුද්ධ වූ සභාවේ ආරක්ෂාව සඳහා කටයුතු කරන්නැ'යි එතුමාණෝ යුරෝපා ජාතිකයන්ගෙන් ඉල්ලා සිටියහ. ඔව්හු ද එතුමාණන්ගේ ඉල්ලීමට ප්‍රතිචාර දක්වමින් හමුදුවක් පිහිටුවා ගත්හ. එහෙත් සටන් කිරීමට තරම් යුධ පුහුණුවක් ඔවුනට නොතිබිණි. නියමිත දින මහත් බැතියෙන් යුතු ව ජපමාලය උච්චාරණය කර සටන් බිමට ගියෝ ය. එම යුද්ධය අතරතුර අතිඋතුම් පස්වන පියුස් ශුද්ධෝත්තම පියතුමා යුරෝපයේ සියලු දෙනාට ජපමාලය උච්චාරණය කිරීමට ආරාධනා කළහ. එතුමාණෝ රෝමයේ ජපමාල පෙරහැරක් ද පැවැත් වූහ.

"ලෙපන්ටෝ" නම් ස්ථානයේ පැවති සටනේ දී රණශූර තුර්කි හමුදව පරාජය කරන්නට ඔවුනට හැකි විය. එම යුද්ධයෙන් යුරෝපා හමුදව පරාජය වූයේ නම්, තුර්කි හමුදව ඉතාලිය ද ආක්‍රමණය කර තුර්කි සුල්තාන්වරයා රෝමයේ අධිරාජ්‍යයා වීමට ඉඩ තිබිණි. ක්‍රි.ව. 1571 ඔක්තෝබර් මස 07 වන දින අත්පත් කරගත් මෙම විජයග්‍රහණය අන් කිසිවක් නිසා නොව **"ජපමාලයේ"** අනුහසින් ම සිදු වූවක් බව ඔව්හු විශ්වාස කළහ.

මේ හේතුවෙන් අතිඋතුම් පස්වන පියුස් ශුද්ධෝත්තම පියතුමා විසින් ඔක්තෝම්බර් මස 07 වන දිනය "විජයග්‍රහණයේ අප ස්වාමි දුවගේ මංගල්‍යය" දිනය ලෙස නම් කරන ලදි. අතිඋතුම් දහතුන්වන ග්‍රෙගරි ශුද්ධෝත්තම පියතුමා විසින් 1573 දී එම මංගල්‍යයේ නම "ජපමාල මංගල්‍යය" ලෙස වෙනස් කරන ලද අතර අතිඋතුම් එකොළොස්වන ක්ලෙමෙන්ට් ශුද්ධෝත්තම පියතුමා විසින් 1716 දී එය විශ්ව සභාවේ ම මංගල්‍යයක් ලෙස නම් කරන ලදි.

ශුද්ධ වූ සභාවේ තීරණාත්මක මෙන් ම මතභේදකාරී මෙවන් සැම අවස්ථාවක දී ම "ජපමාලය" උච්චාරණය කිරීම තුළින් බොහෝ වරප්‍රසාද හිමි කරගෙන ඇත. ශුද්ධ වූ සභා මාතාව ජපමාල බැතිය කෙරෙහි අප ව යොමු කරනුයේ එබැවිනි.

**ජපමාලයේ ඉතිහාසය**

කිතුනු යැදුම් සම්ප්‍රදාය තුළ "ජපමාලය" දීර්ඝ ඉතිහාසයකට හිමිකම් කියන භක්ති අභ්‍යාසයකි.

- ★ ක්‍රි.ව. තුන්වන ශතවර්ෂයේ දී පමණ පෙරදිග වාසය කළ කිතුනු තාපස වරුන් විසින් මෙම භක්ති අභ්‍යාසය ආරම්භ කරන ලදි.
- ★ ක්‍රි.ව. 1214 දී පමණ ස්පාඤ්ඤ ජාතික සාන්ත ඩොමිනික් ගුස්මාන් මුනිතුමන් ජපමාල බැතිය හඳුන්වා දුන්නේ ය. එසේ හඳුන්වා දුන් ජපමාල බැතිය වර්තමානයේ අපි ද භාවිත කරමු.

ජපමාලයේ දී අපි ගැලවීමේ අභිරහස් මෙනෙහි කරමු. ක්‍රිස්තුන් වහන්සේගේ උපත, දුක්ප්‍රාප්තිය, මරණය, උත්ථානය හා ස්වර්ගාරෝහණය එයට ඇතුළත් වේ. මෙම අභිරහස්වලට ක්‍රිස්තුන් වහන්සේගේ ධර්මදූත සේවාව ඇතුළත් නොවූ බැවින් ශුද්ධ වූ දෙවන ජුවාම් පාවුලු ශුද්ධෝත්තම පියතුමා විසින් "ආලෝකයේ" අභිරහස් හඳුන්වා දෙන ලදි. ඒ අනුව මෙනෙහි කරනු ලබන අභිරහස් ගණන විස්සකි.

| දිනය | මෙනෙහි කරනා ක්‍රිස්තුන් වහන්සේගේ ජීවිතයේ සිදුවීම් |
|---|---|
| සඳුදා, සෙනසුරාදා, ආගමන සමයන්හි ඉරිදා හා නත්තල් සමයෙහි ඉරිදා දිනවල | **සොම්නස් අභිරහස්**<br>1වන අභිරහසඃ දෙව්මවුන්ට මංගලම් කීම<br>2වන අභිරහසඃ එළිසබෙත් තුමිය ව බැහැදැකීම<br>3වන අභිරහසඃ දෙව් බිළිඳාණන්ගේ උත්පත්තිය<br>4වන අභිරහසඃ දෙව් බිළිඳාණන් දේව මාලිගයේ පුද කිරීම<br>5වන අභිරහසඃ දෙව් කුමරා දේව මාලිගයෙහි නැති වී සිට සම්බ වීම |

| | |
|---|---|
| අඟහරුවාද, සිකුරාද හා චතාරික සමයේ ඉරිද දිනවල | **දොම්නස් අභිරහස්**<br>1වන අභිරහසː ජේසුස් වහන්සේ මල් උයනේ දුක් විඳීම<br>2වන අභිරහසː ජේසුස් වහන්සේ ගල් කණුවේ බඳිනු ලැබ කස පහර විඳීම<br>3වන අභිරහසː ජේසුස් වහන්සේගේ හිස මත කටු ඔටුන්නක් පළඳවනු ලැබීම<br>4වන අභිරහසː ජේසුස් වහන්සේ කුරුසිය උසුලාගෙන යාම<br>5වන අභිරහසː ජේසුස් වහන්සේ කුරුසියෙහි ඇණ ගසනු ලැබ උකුත් වීම |
| බදාදා දිනවල හා උත්ථාන සමයේ හා සාමාන්‍ය සමයේ ඉරිද දිනවල | **මෝක්ෂ අභිරහස්**<br>1වන අභිරහසː ජේසුස් වහන්සේ මළවුන්ගෙන් උත්ථානය වීම<br>2වන අභිරහසː ජේසුස් වහන්සේගේ ස්වර්ගාරෝහණය<br>3වන අභිරහසː දෙව් මවුන් හා අපෝස්තුලුවරුන් වෙත ශුද්ධාත්මයාණන් වහන්සේ වැඩම කිරීම<br>4වන අභිරහසː දෙව් මවුන් ස්වර්ගාරෝපණය වීම<br>5වන අභිරහසː දෙව් මවුන්ට ස්වර්ග රාජ්‍යයෙහි දී ඔටුනු පැළඳ වීම |
| බ්‍රහස්පතින්දා දිනවල | **ආලෝකයේ අභිරහස්**<br>1වන අභිරහසː ජේසුස් වහන්සේගේ බෞතිස්ම ස්නාපනය<br>2වන අභිරහසː කානා නුවර විවාහ මංගල්‍යය<br>3වන අභිරහසː දේව රාජ්‍යය ප්‍රකාශ කිරීම<br>4වන අභිරහසː ජේසුස් වහන්සේගේ අන්‍ය රූපවිලාශ වීම<br>5වන අභිරහසː ජේසු සමිඳාණෝ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ස්ථාපිත කිරීම |

සාමාන්‍ය ජපමාලය හෝ මළවුන්ගේ ජපමාලය අවස්ථානුකූල ව භාවිත කළ හැකි ය. ජපමාලය උච්චාරණය සඳහා අනුපිළිවෙළක් හා එයට ම සුවිශේෂී යාච්ඤා පවතියි. එම අනුපිළිවෙළ ආරක්ෂා කරමින් නිවැරදි ව යාච්ඤා භාවිත කරමින් අභිරහස් බැතිමත් ව මෙනෙහි කරමින් දිනපතා පවුලක් ලෙස ජපමාලය උච්චාරණය කිරීම අත්‍යවශ්‍ය ය. එය පවුලට ආශිර්වාදයකි.

"මරිය වහන්සේට සම්බන්ධ වන්නට කැමති නම් ජපමාලය යැදීමට වඩා වෙනත් මඟක් නොමැත" (ශුද්ධ වූ දෙවන ජුවාම් පාවුලු ශුද්ධෝත්තම පියතුමා). එබැවින් පවුලක් ලෙස එක් ව ජපමාලය දිනපතා යදිමු.

**සාමාන්‍ය ජපමාලය**

(දිනපතා උච්චාරණය කරනු ලබයි)

- සාන්ත කුරුසේ ලකුණ
- අපෝස්තුලුවරුන්ගේ විශ්වාස ලක්ෂණය
- ස්වාමිවාක් ආරාධනාව
- නමෝ මරිය යාච්ඤා තුනක්
  (එක් එක් නමෝ මරිය යැදුමට පෙර පහත ලුහුඬු යැදුම් ද කිව හැකි ය.)

**පළමුවන නමෝ මරිය යැදුමට පෙර**

පිතා වන දෙවියන්ගේ කුමාරිකාව වූ පිරිසිදු දේවමාතාවෙනි, අප දේව විශ්වාසයෙහි දියුණු වන ලෙස ඔබ වහන්සේගේ ශ්‍රී කුමාරයා ඉදිරියෙහි යාච්ඤා කළ මැනව. (නමෝ මරිය)

**දෙවන නමෝ මරිය යැදුමට පෙර**

පුත්‍ර වන දෙවියන් වහන්සේගේ මාතාව වූ පිරිසිදු මරියනි, අප දේව ඇදහීමෙහි දියුණු වන ලෙස ඔබ වහන්සේගේ ශ්‍රී කුමාරයා ඉදිරියෙහි යාච්ඤා කළ මැනව. (නමෝ මරිය)

**තෙවන නමෝ මරිය යැදුමට පෙර**

ස්ප්‍රීතු සාන්තු වන දෙවියන් වහන්සේගේ ප්‍රිය කාන්තාව වූ දේව මාතාවෙනි, අප දේව ප්‍රේමයෙහි දියුණු වෙන ලෙස ඔබගේ ශ්‍රී කුමාරයා ඉදිරියෙහි යාච්ඤා කළ මැනව. (නමෝ මරිය)

- ත්‍රිත්ව ස්තෝත්‍ර යැදුම
- අහෝ මාගේ දෙවියනි යැදුම (පාතිමා යැදුම)
- අභිරහස මෙනෙහි කිරීම
- ස්වාමිවාක් ආරාධනාව
- නමෝ මරිය යැදුම් දහය
- ත්‍රිත්ව ස්තෝත්‍ර යැදුම
- අහෝ මාගේ දෙවියනි යැදුම

} ජපමාල පන්ති පහේ දී ම මෙම පිළිවෙළ අනුගමනය කෙරේ.

- සකල ගුණ සම්පන්න යැදුම
- මංගල්‍යය ආරාධනාව
- ප්‍රාර්ථනාව

ජපමාලයෙන් අනතුරු ව උච්චාරණය කරන ප්‍රාර්ථනා කිහිපයක් නම්,

- ජේසුස් වහන්සේගේ දිව්‍ය හෘදයේ ප්‍රාර්ථනාව (උදහරණ: සිකුරාද දිනවල)
- දේවමාතා ප්‍රාර්ථනාව
- සාන්ත අන්තෝනි මුනිතුමන්ගේ ප්‍රාර්ථනාව (උදහරණ: අගහරුවාද දිනවල)
- සාන්ත සෙබස්තියන් මුනිතුමන්ගේ ප්‍රාර්ථනාව
- සාන්ත ජූඩ් මුනිතුමන්ගේ ප්‍රාර්ථනාව

## මළවුන්ගේ ජපමාලය

(මළවුන්ගේ මාසයේ දී කිතුනු බැතිමතෙකු ස්වර්ගස්ථ වූ විට දී මෙන් ම එම දිනය අනුස්මරණය කරන විට දී මෙම ජපමාලය කියනු ලැබේ.)

- **ත්‍රිත්ව ස්තෝත්‍ර යැදුම**

- **කුරුසියට**
  ජේසුස් වහන්සේගේ ශ්‍රී හෘදයෙනි, මම ඔබ වහන්සේ කෙරෙහි විශ්වාසය තබමි.

- **ස්වාමිවාක් ආරාධනාව වෙනුවට**
  අහෝ මාගේ දෙවියනි, ඔබ වහන්සේ සත්‍යයම බැවින් ඔබ වහන්සේ කෙරෙහි විශ්වාස කරමි. ඔබ වහන්සේ පොරොන්දු සම්පූර්ණ කරන බැවින්, ඔබ වහන්සේ කෙරෙහි බලාපොරොත්තු වෙමි. ඔබ වහන්සේ අනන්ත දයා යහපතාණන් බැවින් සියලු දේට වැඩියෙන් ඔබ වහන්සේට දයා වෙමි.

- **නමෝ මරිය යැදුම වෙනුවට**
  ජේසුනී මරියනී - ජේසු මරිය ජුසේ තුමෙනි

- **එක් එක් ජපමාල පන්තිය අවසානයේ දී**
  ජේසුස් වහන්සේගේ මධුර වූ හෘදයෙනි, ඔබ වහන්සේ මාගේ ආදරය වේවා. මරිය තුමියගේ මිහිරි වූ හෘදයෙහි ඔබ මාගේ ගැලවීම වේවා.

- අවසානය

  ජේසු මරිය ජුසේ මාගේ හෘදයත් ජීවිතයත් ආත්මයත් ඔබ වහන්සේලාට ඔප්පු කරමි. ජේසු මරිය ජුසේ මාගේ මරණාසන්නයේ දී මට පිහිට වුව මැනව. ජේසු මරිය ජුසේ ඔබ වහන්සේලා ඉදිරියෙහි මා සමාදානයෙන් නැසීයාමට සැලැස්සුව මැනව.
- **මළවුන් වෙනුවට ප්‍රාර්ථනාව**

වත්මන් කිතුනු සභාවට මෙන් ම අපගේ ජීවිතවලට එල්ල වන අභියෝග ජය ගන්නට ජපමාලය තරම් සුදුසු ආයුධයක් නොමැත. එබැවින් දිනපතා පවුලක් ලෙස එක් ව බැතියෙන් යුතු ව ජපමාලය උච්චාරණය සඳහා අප යොමු විය යුතු ය. එමගින් වරප්‍රසාදයෙන් පිරි කිතුනු දිවියකට අපට හිමිකම් කිව හැකි ය.

**ක්‍රියාකාරකම**

1. වර්තමානයේ අප භාවිත කරන ජපමාල බැතිය හඳුන්වා දුන්නේ කවු ද?
2. ජපමාලයේ දී අප භාවිත කරන අබිරහස් වර්ග **හතර** නම් කරන්න.
3. සාමාන්‍ය ජපමාලය කියන විට භාවිත කරන
   - සකලගුණ සම්පන්න යැදුම
   - මංගල්‍ය ආරාධනාව
   - අහෝ මගේ දෙවිඳුනි යැදුම

   යන යාච්ඤා කටපාඩම් කර විෂය භාර ගුරුතුමාට/ගුරුතුමියට පාඩම් දෙන්න.



**ජීවිතයට බිඳක්**

*මළවුන්ගේ ජපමාලයේ දී භාවිත වන යාච්ඤා කටපාඩම් කරන්න.*

# 20 නුවාන හා මංගල්‍යය

ජූඩ් : අම්මේ...... කිරිබත්වල සුවඳ! අද දවල්ට කිරිබත් ද?

අම්මා : පුතාට අමතක වුණා ද අද අපේ පල්ලියේ මංගල්‍යයට කොඩිගහ ඔසවන දවස කියලා? ඒකයි, මම කිරිබත් හැදුවේ.

ජූඩ් : ඔව් නේ ද? (අසල සිටින සොහොයුරිය අමතමින්) අක්කේ, අද හවසට බඩ පැළෙන්න කිරිබත් කන්න පුළුවන් නේ ද?

ස්ටෙලා : මල්ලිට ඉතිං කන්න තියෙනවා නම් ඇතිනේ. අම්මේ, මේ පාර අපේ නුවානය දවසට යි, පල්ලියේ මංගල්‍යයට යි අඳින්න අලුත් ම මෝස්තරයේ ගවුම් දෙකක් මට ඕනේ.

අම්මා : දරුවනේ පල්ලියේ මංගල්‍යය කියලා කියන්නේ කනබොන එකවත් මෝස්තරයට අඳින පළඳින එකවත් නෙමෙයි.

දෙදෙනා ම: එහෙනම් අම්මේ?

අම්මා : පුතේ, මේ කාලේ දී තමයි අපි දෙවියන් වහන්සේට තව තවත් ළංවෙන්න ඕනේ. ඒ වගේ ම මීසමේ හැම දෙනා ම එකතු වෙලා අපේ පල්ලිය කැපකරලා තියෙන මුනිවරයාට ස්තුති කරන්න ඕනේ. හොඳ ළමයි වගේ ඉක්මන් කරලා ලෑස්ති වෙන්න කෝ පල්ලියට යන්න.

සෑම වසරක ම අපගේ දේවස්ථානවල විවිධ මංගල්‍ය සැමරෙනු ලැබෙයි. නිදසුන් ලෙස, පාස්කු හා නත්තල් මංගල්‍ය දැක්විය හැකි ය. එම මංගල්‍ය විශ්ව හෝ ලාංකේය ශුද්ධ වූ සභා මාතාව එක ම දිනයක සමරන්නී ය. ඒවාට අමතර ව සෑම දේවස්ථානයකට ම ආවේණික විශේෂ මංගල්‍යයක් ඇත. එනම්, තම දේවස්ථානය කැපකර ඇති ශුද්ධවන්තයාගේ හෝ ශුද්ධවන්තියගේ හෝ මංගල්‍යය යි. මීසම් සේවක පූජාප්‍රසාදීන් වහන්සේලා හා මීසමේ ජනතාව එකට එක් ව එම මංගල්‍යය මහත් උත්සවශ්‍රීයෙන් සමරති.

දේවස්ථාන මංගල්‍ය පැවැත්වීමට හේතු

- ආධ්‍යාත්මික ජීවිතයෙහි ප්‍රබෝධයක් ඇති කර ගැනීමට
- දේව වචනයෙන් ජීවිතය පෝෂණය කර ගැනීමට
- දේවස්ථානය කැපකර ඇති ශුද්ධවන්තයාගේ මැදිහත්කම තුළ ලද සැම දීමනාවකට ම තුති පිදීමට
- එතුමන්ලාගේ ජීවිත ආදර්ශ මෙනෙහි කර, ජීවිත හැඩගස්වා ගෙන අන් අයට ආදර්ශමත් කිතුනුවන් ලෙස ජීවත් වීමට
- ඉදිරි වර්ෂය තුළ මීසමේ මෙන් ම මීසම්වාසී ජනතාවගේ ජීවිත එතුමාණන්ගේ මැදිහත්කමට භාර කිරීමට

### කොඩිගස එසවීමේ අරුත



20.1 රූපය - කොඩිගස එසවීම

කොඩිගස එසවීමත් සමග මීසමේ වාර්ෂික මංගල්‍යය ආරම්භ වේ. ධර්මදූත පියවරුන් මෙරට ධර්මදූත සේවයේ නිරත ව සිටින කාලයෙහි ප්‍රමාණවත් පූජාප්‍රසාදීන් වහන්සේලා නොසිටියහ. එබැවින් මීසමකට පියතුමකු පැමිණියේ මාස කිහිපයකට වරක් හෝ වසරකට වරක් ය. එසේ පැමිණෙන පියතුමා සතියක් හෝ දෙකක් මීසමේ රැඳී සිටිමින් මීසම් ජනතාවගේ ආධ්‍යාත්මික අවශ්‍යතා ඉටු කළේ ය. එමෙන් ම එතුමා දේවස්ථානය කැප කර ඇති ශුද්ධවන්තයාගේ මංගල්‍යය සැදැහැවත්හු හා එක් ව සැමරීය. එහි දී මීසම් භාර පියතුමා පැමිණ ඇති බවත් තම ආධ්‍යාත්මික පෝෂණය සඳහා සහාය එතුමාණන්ගෙන් ලබාගත හැකි බවත් අවට සිටින කිතුනු ජනතාව දැනුවත් කළේ කොඩිගස එසවීමෙනි.

### නුවාන

කොඩිගස එසවීමෙන් අනතුරු ව නුවාන පැවැත්වේ. "නුවානය" (Novena) යන්න ලතින් බසින් "නෝවෙම්" (Novem) යන්නෙන් බිඳී ආවකි. එහි අර්ථය "නවය" යන්න ය. දින නවයක් පුරා විශේෂ ඉල්ලීම් උදෙසා පවත්වනු ලබන යැදුම් මෙහෙයක් ලෙස නුවාන අර්ථ දැක්විය හැකි ය. කොඩිගස ඔසවා දින

අටක් නුවාන පවත්වා නවවන දින සන්ධ්‍යා මෙහෙය (වෙස්පර්ස්) පවත්වා දින නවයක යැදුම් මෙහෙය අවසන්කර දහවන දින දේවස්ථානයේ මංගල්‍යය පැවැත්වීම කතෝලික සම්ප්‍රදාය යි. මෙම කාලවකවානුවට පසුබිම ශුද්ධාත්ම (පෙන්තකොස්ත) මංගල්‍යය යි. එනම්, ජේසුස් වහන්සේගේ ස්වර්ගාරෝහණයේ සිට දින 09ක් මරිය තුමිය හා අපෝස්තුලුවරු ඇතුළු 120 දෙනෙක් යාච්ඤා කර දසවන දින ශුද්ධාත්ම වරම් ලැබූහ. එම 120 දෙනා මෙන් අප ද මංගල්‍යය සමය තුළ ආධ්‍යාත්මික වරප්‍රසාද ලබා ගැනීමට කටයුතු කළ යුතු වෙමු. ඒ සඳහා;

- සෑම දින ම නුවානවලට සහභාගි විය යුතු ය.
- දිනපතා දිව්‍ය පූජාවට සහභාගි වී දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගත යුතු ය.
- අන් දිනවලට වඩා යාච්ඤාවේ ජීවිතයක් ගත කළ යුතු ය.
- යහපත් පාපෝච්චාරණයක් කර ආධ්‍යාත්මික නවෝදයක් ලබා ගැනීමට උනන්දු විය යුතු ය.
- සන්ධ්‍යා මෙහෙයට හා මංගල්‍ය දිව්‍ය පූජාවට සහභාගි විය යුතු ය.
- මංගල්‍ය දින පෙරහැරට භක්තියෙන් හා උද්යෝගයෙන් සහභාගි විය යුතු ය.
- මීසමේ දෙව්මැදුර කැප කළ ශුද්ධවරයාගේ ජීවිතාදර්ශය අනුගමනය කිරීමට අදිටන් කරගත යුතු ය.

මංගල්‍යය කාලසීමාවේ දී මීසම්භාර පූජාප්‍රසාදීන් වහන්සේලා,

- මීසමේ ජනතාවගේ ආධ්‍යාත්මික පෝෂණයට ඉවහල් වන්නා වූ ක්‍රියාවනට මුල්තැනක් දීමට
- නුවාන දිනවල දී සුවිශේෂි වූ තේමා යටතේ දේව වචනය මෙනෙහි කිරීමට
- මීසමේ නාම සාන්තුවරයාගේ ජීවිතය ගැන මෙනෙහි කිරීමට මීසම්වාසීන් යොමු කිරීමට
- දිනපතා දිව්‍ය පූජාවට හා භක්ති අභ්‍යාසයන්ට සම්පූර්ණයෙන් ම සහභාගි වීම සඳහා සැදැහැවත් ජනතාව යොමු කිරීමට
- සැබෑ මනස්ථාපයක් තුළින් සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලබා ගැනීම සඳහා ජනතාව යොමු කිරීමට
- කාලීන අවශ්‍යතා කෙරෙහි අවධානය යොමු කරමින් සංවිධානාත්මක ව දානමය ක්‍රියාවන් දියත් කිරීමට

අවධානය යොමු කරති.

දේවස්ථානයේ වාර්ෂික මංගල්‍යය ගමට ආශිර්වාදයකි. එමෙන් ම ලැබූ සැම වරප්‍රසාදයකට ම තුති පුදන්නට ලැබූ මහඟු අවස්ථාවකි. එබැවින් මංගල්‍යය හා බැඳුණු බාහිර ආටෝපවලින් මිදී ආධ්‍යාත්මික නවෝදයක් ලබා ගනිමින් අප සතු දේ අන් අය හා බෙදා ගනිමින් දෙවිඳුන්ට ප්‍රසන්න මංගල්‍යයක් සැමරීමට අප සැම උනන්දු විය යුතු ය.

**ක්‍රියාකාරකම**

1. පුරාණ ශ්‍රී ලංකාවේ කොඩිගස එසවීමේ පසුබිම ලියන්න.
2. "නුවාන" යන්න අර්ථ දක්වන්න.
3. දේවස්ථානයේ වාර්ෂික මංගල්‍යය අර්ථවත් ව සැමරීමට ඔබ කළ යුතු කාර්යයන් **තුනක්** ලියන්න.
4. ඔබගේ දේවස්ථානය කැපකර ඇති ශුද්ධවන්තයා හෝ ශුද්ධවන්තිය පිළිබඳ ව පහත කරුණු සැළකිල්ලට ගනිමින් බිත්ති පුවත් පතකට ලිපියක් ලියන්න.
   - දේවස්ථානය කැපකර ඇති ශුද්ධවන්තයාගේ නම
   - එම මංගල්‍යය කතෝලික සභාව සමරන දිනය
   - එම මංගල්‍ය ඔබගේ දේවස්ථානයේ සමරන දිනය
   - එතුමාගේ ජීවිත තොරතුරු
   - එතුමාගෙන් ඔබට ගත හැකි ආදර්ශ

   (වචන 75 ප්‍රමාණවත් ය. සුදුසු මාතෘකාවක් ද යොදන්න.)



**ජීවිතයට බිඳක්**

***සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලබා මීසමේ වාර්ෂික මංගල්‍යට සහභාගි වෙමු.***

# 21 සන්ධ්‍යා මෙහෙය හා දිව්‍ය සත්ප්‍රසාද ආශිර්වාදය

අපමණ සෙත මට සැලසූ සමිඳුට
දිවි හිමියෙන් මම තුති පුදමි
අසරණ මා හට සරණ වූ දෙවිඳුට
නිරතුරු මම බැති ගී ගයමි

මාගේ ආත්මය සමිඳුන් ගැන උදම් අනන්නේ ය;
මාගේ හෘදය ගැලවුම්කාර දෙවිඳුන් තුළ ප්‍රීති වන්නේ ය;
මක්නිසාද යත් එතුමාණෝ තම දාසියගේ අසරණකම කෙරෙහි කරුණාවෙන් සිය නෙත් යොමු කළ සේක.

අහෝ බලන්න සියලු පරම්පරාවෝ මතු කලට මට භාග්‍යවන්තී යයි කියන්නෝ ය.
මක්නිසාද යත් බලවත් වූ තැනැන් වහන්සේ මට මහත් දේ කළ සේක.
උන් වහන්සේගේ නාමය සුවිශුද්ධ ය.
උන් වහන්සේ උඩඟු සිතැති සියලු දෙන සිය සිතුවිලි සමඟ විසිර වූ සේක.
සාගින්නෙන් පෙළෙන්නන් හොඳ දෙයින් පෝෂණය කළ සේක.
ධනවතුන් හිස් අතින් යාමට සැලසූ සේක.
පිතා පුත්‍රයා සහ ශුද්ධාත්මයාණන්ට තුති වේවා
දැනුත් සදහටත් මහිමය වේවා

(කිතුනු ගී 387)

ශුද්ධ වූ ලූක් තුමාගේ සුබාරංචියේ 1:46-55 පදනම් කර ගෙන මෙම ගීතිකාව නිර්මාණය වී ඇත. මරිය තුමියගේ උදාන ගීය (මග්නිෆිකාත්) ලෙසින් මෙය හඳුන්වනු ලබයි. මරිය තුමියගේ උදාන ගීය මෙනෙහි කරනු ලබන අනිවාර්ය අවස්ථාවක් ලෙස "සන්ධ්‍යා යාම යැදුම" දැක්විය හැකි ය.

## යාම යැදුම



21.1 රූපය - යාම යැදුමෙහි නිරත වන අවස්ථාවක්

"යාම යැදුම" යනු දවසේ නිශ්චිත කාල වේලාවල දී විශේෂයෙන් ම ගීතාවලියේ තෙහිලි ගී පදනම් කර ගෙන සිදු කෙරෙන ප්‍රශංසා යාච්ඤා පිළිවෙතකි. දවසේ නිශ්චිත යාමවල (වේලාවල) දී මෙය සිදු කෙරෙන නිසා මෙය "යාම යැදුම" ("LITURGY OF THE HOURS") ලෙස නම් කර ඇත.

"යාම යැදුම" අපගේ යාච්ඤා සම්ප්‍රදායයට එක් වූ නව යැදුම් ක්‍රමයක් නොවේ. එය ඉපැරණි සාම්ප්‍රදායික බයිබලීය යැදුමකි. ජුදා ජනතාව ධර්මශාලාවල (සිනගෝගවල) කළ යැදුම්වල දී ගීතාවලියේ ගීත භාවිත කළහ. මෙම යැදුම තුළ ගීතාවලියේ ගීතිකා අනිවාර්යයෙන් ම භාවිත වේ.

මුල් කාලයේ දී මෙම යැදුම් මෙහෙය පූජක, පැවිදි හා ගිහි ජනතාව අතර ප්‍රචලිත ව පැවතුණි. පසුකාලීන ව එයට සංකීර්ණ මුහුණුවරක් එක් වීම නිසා ගිහි ජනතාව ඉන් බැහැර වීය. පූජක හා පැවිදි පිරිස අනිවාර්යයෙන් දිනපතා ම යාම යැදුම උච්චාරණය කළ යුතු ය.

ජුදා සිරිතට අනුව මංගල්‍යයක් ආරම්භ කරනු ලබන්නේ මංගල්‍යය දිනට පෙර දින සවස හිරු බැස යාමත් සමග ම ය. අපගේ දේවස්ථානයන්හි මංගල්‍යය පවත්වන දිනට පෙර දින "සන්ධ්‍යා මෙහෙය" හෙවත් "වෙස්පර්ස්" මෙහෙය පැවැත්වෙයි. "වෙස්පර්ස්" යනු "සන්ධ්‍යා යාම යැදුම" යි. වර්තමානයේ ගිහි ජනතාව යාම යැදුමට සම්බන්ධ වන අවස්ථාවක් ලෙස සන්ධ්‍යා මෙහය දැක්විය හැකි ය. යාම යැදුම යදින අවස්ථා අනුව යාම යැදුම මෙලෙස නම් කළ හැකි ය:

1. උදා යාම යැදුම
2. දිවා යාම යැදුම
3. සැඳෑ යාම යැදුම
4. රාත්‍රී යාම යැදුම

**සන්ධ්‍යා මෙහෙයේ සැලැස්ම**

- ගීතිකා තුනක් (තෙහිලි ගී දෙකක් හා ශුද්ධ ලියවිලි ගීයක්) මෙනෙහි කිරීම
- (සුවිශේෂය) ශුද්ධ ලියවිලි පාඨය
- දේශනාව
- මරිමච් උදාන ගීය
- විශ්වාසකයින්ගේ යැදුම්
- ස්වාමිවාක් ආරාධනාව
- නුවාන යාච්ඤාව
- දිව්‍ය සත්ප්‍රසාද ආශිර්වාදය

සන්ධ්‍යා මෙහෙය දිව්‍ය සත්ප්‍රසාද ආශිර්වාදයත් සමග නිම වේ. ජීවමාන ජේසුස් ක්‍රිස්තුන් වහන්සේට අපගේ ගෞරවය පුද කරමින් අපගේ අවශ්‍යතා උන් වහන්සේ හමුවේ තබන මෙම අවස්ථාවේ දී උන් වහන්සේගේ ආශිර්වාදය අප ජීවිතවලට ගලා එයි. එබැවින් මෙම මොහොත කිතුනු අපට අතිශයින් වැදගත් ය. දිව්‍ය සත්ප්‍රසාද ආශිර්වාදය ලබා ගන්නා අවස්ථාවේ දී දණින් වැටී එම උතුම් ආශිර්වාදය ලබා ගත යුතු ය. එමෙන් ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ සත්ප්‍රසාද කරඬුවෙහි තැන්පත් කර ඇති අවස්ථාවන්හි දෙදණ නමා අපගේ ගෞරවය පුද කළ යුතු ය. සන්ධ්‍යා මෙහෙයේ දී මෙන් ම දිව්‍ය සත්ප්‍රසාද ආශිර්වාදය ලබා දෙන තවත් අවස්ථා කිහිපයක් ලෙස;

- සෑම මාසයක ම පළමු  බ්‍රහස්පතින්දා හෝ පළමු සිකුරාදා දින
- දිව්‍ය සත්ප්‍රසාද මංගල්‍යය
- ධර්ම විවේක දිනවල
- තේවත්තේ රෝගීන්ගේ මංගල්‍යය දැක්විය හැකි ය.

"යාම යැදුම" විශ්වය මවාලූ දෙවි පියාණන් වහන්සේට ප්‍රශංසා කරන යැදුමකි. දේවස්ථානයේ සන්ධ්‍යා මෙහෙය සංවිධානයට සහාය දීම, දේවස්ථාන පාලක පියවරුන් හා එක් ව හැකි අයුරින් ජනවන්දනා කටයුතු සංවිධානය කිරීම, දේවස්ථානය ඇතුළත මෙන් ම පිටත අලංකාර කිරීමට සහාය වීම මෙන් ම ඉමහත් භක්තියකින් යුතු ව සන්ධ්‍යා මෙහෙයේ යාච්ඤාවලට සහභාගී වීම තුළින් යාම යැදුම සම්ප්‍රදය ඉදිරියට පවත්වා ගෙන යාමට අපට ද දායක විය හැකි ය. එය කිතුනු අපගේ යුතුකමක් ද වන්නේ ය.

**ක්‍රියාකාරකම**

1. "යාම යැදුම" එලෙස හැඳින්වීමට හේතුව දක්වන්න.
2. යාම යැදුමේ දී වැඩිපුර ම භාවිත වන්නේ කුමන පොතෙන් ගත් ගීත ද?
3. ගිහි අප යාම යැදුමට අනිවාර්යයෙන් සම්බන්ධ වන අවස්ථාව කුමක් ද?
4. දිව්‍ය සත්ප්‍රසාද ආශිර්වාදය ලබා දෙන අවස්ථා **තුනක්** නම් කරන්න.



**ජීවිතයට බිඳක්**

***දෙවි පියාණන් වහන්සේගෙන් අප ලබනා සැම වරප්‍රසාදයක් සඳහා ම උන්වහන්සේට තුති ප්‍රශංසා කරමු.***

# 22 පාදනමස්කාරය

මීසම් සංඝයේ වාර්ෂික චතාරික වන්දනා ගමන



එන්න, එක පවුලක දරුවන් සේ මෙනෙහි කරමු කිතු සමිඳුන්ගේ දුක්ප්‍රාප්තිය

ස්ථානයඃ හිනිදුම කල්වාරි පුදබිම
දිනයඃ පෙබරවාරි 25
පිටත් වීමඃ පෙරවරු 4.00
හිනිදුමෙන් පිටත් වීමඃ පස්වරු 4.30
ගමන් ගාස්තුව : රු. 300/= (එක් අයකුට)

ඔබේ අවධානයට :

ආසන සීමිත බැවින් පෙබරවාරි 11වන දිනට පෙර භාණ්ඩාගාරිකට මුදල් ගෙවා ආසන වෙන් කරවා ගැනීමට හා ගමනේ තොරතුරු පත්‍රිකාව ලබා ගැනීමට කාරුණික වන්න.

මෙම මීසම් සංඝය මෙම වන්දනා ගමන යාමේ පරමාර්ථය පාදනමස්කාරය කිරීමට බව පැහැදිලි ය. පාදනමස්කාරය ක්‍රිස්තුන් වහන්සේගේ දුක්විඳීම හා උකුත්වීම සිහිපත් කරන්නා වූ භක්ති අභ්‍යාසයකි.

## පාදනමස්කාරයේ ඉතිහාසය

සභා සම්ප්‍රදායයේ සඳහන් වන පරිදි ක්‍රිස්තුන් වහන්සේගේ කුරුසියේ ගමන සටහන් වූ මාර්ගයෙහි මරිය තුමිය නිරතුරු ව ගමන් කර ඇත. කොන්ස්ටන්ටයින් අධිරාජ්‍යයා ආගම ඇදහීමේ නිදහස කිතුනුවන්ට දුන් පසු

ක්‍රිස්තුන් වහන්සේ කල්වාරිය කරා ගිය ගමනේ වැදගත් ස්ථාන ලකුණු කළ බව සඳහන් වේ. එම මාර්ගය ඔස්සේ කිතුනුවෝ පාද නමස්කාරය කළහ. ඒ සඳහා ශුද්ධ වූ දේශයට (පලස්තීනයට) යා යුතු විය. එහෙත් 5වන සියවසේ සිට ලෝකයේ විවිධ ස්ථානවල පාදනමස්කාරය කිරීම සඳහා ස්ථාන හා කල්වාරි සූදානම් කෙරිණි.

### පාදනමස්කාරයේ ස්ථාන

ක්‍රිස්තුන් වහන්සේ පිලාත් විසින් මරණයට තීන්දු කරනු ලැබූ අවස්ථාවේ සිට සොහොන්ගෙයි තැන්පත් කිරීම දක්වා වූ විශේෂ සිදුවීම් පාදනමස්කාර තුළ සිහිපත් කෙරෙයි. එය ස්ථාන 14කින් යුක්ත ය.

**පළමුවන ස්ථානය**



ජේසු ස්වාමිදරුවෝ මරණයට තීන්දුව ලබන සේක.

**දෙවන ස්ථානය**



දුෂ්ට ජුදයෝ ජේසුස් ස්වාමි දරුවන්ගේ ශ්‍රී කර පිට කුරුසිය තබති.

**තුන්වන ස්ථානය**



ජේසු ස්වාමිදරුවෝ පළමු වර බිම වැටෙන සේක.

**හතරවන ස්ථානය**



ජේසුස් ස්වාමිදරුවන්ට උන් වහන්සේගේ පිරිසිදු මැණියෝ සම්මුඛ වන සේක.

## පස්වන ස්ථානය



කුරුසිය ගෙන යන පිණිස සීමොන් සිරනේවුස් ජේසුස් ස්වාමි දරුවන්ට උදව් වෙයි.

## හයවන ස්ථානය



වෙරෝනිකා නම් භක්තිවන්ත ස්ත්‍රිය ජේසුස් ස්වාමි දරුවන්ගේ ශ්‍රී මුහුණ මණ්ඩලය පිස දමයි.

## හත්වන ස්ථානය



ජේසුස් ස්වාමි දරුවෝ දෙවන වර බිම වැටෙන සේක.

## අටවන ස්ථානය



ජේසු ස්වාමි දරුවෝ ජෙරුසලමේ ස්ත්‍රීන් සනසා වදාරන සේක.

## නමවන ස්ථානය



ජේසුස් ස්වාමි දරුවෝ තුන්වන වර බිම වැටෙන සේක.

## දහවන ස්ථානය



දුෂ්ට ජුදයෝ ජේසු ස්වාමි දරුවන්ගේ වස්ත්‍ර කඩා දමති.

එකොළොස්වන ස්ථානය



ජේසු ස්වාමි දරුවෝ කුරුසියේ ඇණ ගසනු ලබන සේක.

දොළොස්වන ස්ථානය



ජේසු ස්වාමි දරුවෝ කුරුසියෙහි උකුත් වන සේක.

දහතුන්වන ස්ථානය



ජේසු ස්වාමි දරුවෝ කුරුසියෙන් බානලදුව ව තමන් වහන්සේගේ පිරිසිදු මෑණියන්ගේ උකුළෙහි පුනවනු ලබන සේක.

දාහතරවන ස්ථානය



ජේසුස් ස්වාමි දරුවෝ ගල්ලෙනෙහි තැන්පත් කරනු ලබන සේක.

මෙම භක්ති අභ්‍යාසය සිදුකරන අනුපිළිවෙළක් පවතියි. එමෙන් ම එයට සුවිශේෂි වූ යාච්ඤා මෙන් ම ගීතිකා ද ඇත.

### පාදනමස්කාර සිදුකරන අනුපිළිවෙළ

- පාදනමස්කාරයේ ස්ථානය නම් කිරීම
- පදයඃ ක්‍රිස්තුනි ඔබට නමස්කාර කොට ස්තුති ප්‍රශංසා කරමු.
- උත්තරඃ මක්නිසාද යත් ඔබ වහන්සේගේ ශ්‍රී කුරුසයෙන් ඔබ වහන්සේ ලෝකය ගලවා ගත් සේක.
- මෙනෙහි කිරීම

- ස්වාමිවාක් ආරාධනාව, නමෝ මරිය යැදුම හා ත්‍රිත්වක ස්තෝත්‍ර යැදුම
- යාච්ඤාව
- පදය: ස්වාමීනී පාපි වූ අපට කරුණාකර වදාළ මැනව.
- උත්තරය: අපට කරුණා කර වදාළ මැනව.
- පදය: මළා වූ ක්‍රිස්තියානින්ගේ ආත්මවල් දේව දයාබරකමින්
  සමාදානයෙහි සැතපෙන ලද්දේ වා!
- උත්තර: ආමෙන්
- ගීතිකාව

  දේව කන්‍යා නිමල මවුනේ
  ඔබගේ කුමරා දැරුව වණවල්
  මා හෘදයේ සන් කළ මැනව.

ක්‍රිස්තුන් වහන්සේගේ දුක්ප්‍රාප්තියේ ගමන පාදනමස්කාරය තුළින් අප විසින් සිහිපත් කරනු ලබයි. එබැවින් ගෞරවාන්විත ව හා අර්ථාන්විත ව මෙම භක්ති අභ්‍යාසය සිදු කරමින් අප ද එම වේදනාව දරා ගැනීමට පංගුකාර විය යුතු ය. එබැවින් චතාරික කාලයේ සෑම සිකුරාදා දිනක ම හෝ හැකි සෑම විට ම පෞද්ගලික ව හෝ සාමූහික ව මෙම භක්ති අභ්‍යාසයේ නිරත වීම කිතුනු අපගේ යුතුකමකි. එමෙන් ම ජීවිතයේ දුක් කම්කටොලු අභියෝග සතුටින් භාර ගෙන ජීවත් වෙමින් ද මර්දන ක්‍රියාවල නිරත වෙමින් ද මෙම කාලවකවානුව ගත කිරීම අපගේ යුතුකම වන්නේ ය.

**ක්‍රියාකාරකම**

1. පාදනමස්කාරයේ දී අප සිහිපත් කරන්නේ කුමක් ද?
2. මෙම භක්ති අභ්‍යාසය බිහි වීමට හේතු වූ ඓතිහාසික පසුබිම ලියා දක්වන්න.
3. එක් එක් ස්ථානයේ දී පාදනමස්කාරය කරන ආකාරය ලියා දක්වන්න.



**ජීවිතයට බිඳක්**

***චතාරික කාලයේ දී හැකි සෑම විට ම තනි ව හෝ සාමූහික ව පාදනමස්කාරය කරමු.***

# 23 ශුද්ධ වූ පැය



23.1 රූපය - දිව්‍ය සත්ප්‍රසාද වන්දනාව පවත්වන අවස්ථාවක්

කතෝලික සභාවේ පවතින සාම්ප්‍රදායික භක්ති අභ්‍යාස අතර සුවිශේෂී ස්ථානයක් ශුද්ධ වූ පැයට හිමි වේ. පැයකට ආසන්න කාලයක් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ අභියස හෝ යාච්ඤාවේ නිරත විය හැකි ස්ථානයක හෝ භාවනාවෙන් හා යාච්ඤාවෙන් ශුද්ධවත් ව ගත කිරීම මෙහි දී සිදු වේ.

## ශුද්ධ වූ පැයෙහි ඉතිහාසය

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ මහ බ්‍රහස්පතින්දා දින ගෙත්සමනෙහි දී (මල් උයනේ දී) විඳි වේදනා සිහිපත් කරමින් එයට පංගුකාරවන්නට ක්‍රි.ව. 1673 දී ශුද්ධ වූ මර්ගරීතා මරියා ඇලකොක් තුමියට දර්ශනයකින් කළ ඇරයුම ඉටු කිරීමේ ප්‍රතිඵලයක් ලෙස මෙම භක්ති අභ්‍යාසය ආරම්භ විය. ඒ අනුව එය ජේසුස් වහන්සේ ම ශුද්ධ වූ මර්ගරීතා මරිය තුමිය මගින් ආරම්භ කළ භක්ති අභ්‍යාසයකි. මෙම භක්ති අභ්‍යාසය අවස්ථාවේ දී අප ඉටු කරනුයේ ජේසුස් වහන්සේ අපෝස්තුලුවරුන්ගෙන් ඉල්ලූ කාරුණික ඉල්ලීමකි: "මා සමග එක පැයක් වත් අවදි ව ඉන්න ඔබට බැරිවුණා ද?" (මතෙව් 26:40)

## ශුද්ධ වූ පැය කළ යුතු අවස්ථා

- මහ බ්‍රහස්පතින්දා දින
- සැම සතියක ම බ්‍රහස්පතින්දා හෝ සිකුරාදා දින
- දිව්‍ය සත්ප්‍රසාද මංගල්‍යය පවත්වන විට
- ධර්ම විවේක දිනවල
- මීසමේ සංඝයක් ලෙස හෝ පවුලක් ලෙස හෝ විශේෂ අවශ්‍යතා වෙනුවෙන් මෙය දිනපතා ද කළ හැකි ඉතා වටිනා භක්ති අභ්‍යාසයකි.

භාග්‍යවන්ත තෙරේසා මව්තුමිය දිනපතා ශුද්ධ වූ පැය පවත්වා ඇති අතර තම පැවිදි නිකායේ අයට ද එලෙස කරන ලෙස උපදෙස් දී ඇත.

මෙම භක්ති අභ්‍යාසය සාමූහික ව හෝ පෞද්ගලික ව හෝ කළ හැකි ය. එසේ ඉටු කළ හැකි ආකාර කිහිපයකි. එනම්,

- දේවස්ථානයේ හෝ කුඩා දෙව් මැදුරුවල දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ඉදිරිපිට
- පවුලක් ලෙස එක් ව නිවසේ දී
- ආගමික පරිසරයක් ඇති ආයතනයක

## ශුද්ධ වූ පැය කිරීමේ පරමාර්ථ

- ක්‍රිස්තුන් වහන්සේ මල් උයනේ දී කළ යාච්ඤාවට පංගුකාර වීමට
- අපගේ විශේෂ අවශ්‍යතා වෙනුවෙන්
- අපට විසඳුම් සොයාගත නොහැකි ප්‍රශ්න හමුවේ ජේසුස් වහන්සේගෙන් සහාය පැතීමට
- ක්‍රිස්තු ශ්‍රාවකයකු ලෙස ආධ්‍යාත්මිකව වැඩි වර්ධනය වීමට

## සාම්ප්‍රදායික ශුද්ධ වූ පැයෙහි අනුපිළිවෙළ

මෙම භක්ති අභ්‍යාසය පොදුවේ පිළිගත් සාම්ප්‍රදායික අනුපිළිවෙළක් ඔස්සේ ඉටු කරනු ලබයි. ඒ අනුව,

- ආරම්භක ගීතිකාව
- ආරම්භක යාච්ඤාව
- පළමුවන පැයකාල
- දෙවන පැයකාල
- ගීතිකාව
- තුන්වන පැයකාල
- සතරවන පැයකාල
- ගීතිකාව
- අවසානය යාච්ඤාව
- ගීතිකාව

පවුලක් ලෙස හෝ සංඝයක් ලෙස හෝ මෙම භක්ති අභ්‍යාසය පවත්වන්නා වූ සෑම මොහොතක දී ම ඉමහත් බැතියකින් යුතු ව එයට සහභාගී වීම කිතුනු අපගේ යුතුකමකි.

**ක්‍රියාකාරකම**

1. ශුද්ධ වූ මර්ගරිතා මරිය තුමියට දර්ශනයකින් ලැබුණ ඇරයුම කුමක් ද?
2. ශුද්ධ වූ පැය කළ යුතු අවස්ථා **දෙකක්** නම් කරන්න.
3. ශුද්ධ වූ පැය කිරීමේ පරමාර්ථ **දෙකක්** නම් කරන්න.
4. ශුද්ධ වූ පැය තුළ අප මෙනෙහි කරනුයේ කුමක් ද?



**ජීවිතයට බිඳක්**

***ශුද්ධ වූ පැයෙහි භාවිත වන යාච්ඤා නිවැරදි ව තාලානුකූල ව උච්චාරණයට හුරු වෙමු.***

# 24 දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදැකීම හා දිව්‍ය සත්ප්‍රසාද පෙරහැර



24.1 රූපය - දිව්‍ය සත්ප්‍රසාද කරඬුව

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තුළ ජීවමානව වැඩ සිටිනා බව කතෝලික අපගේ විශ්වාසය යි. එය දිව්‍ය සත්ප්‍රසාද ප්‍රාතිහාර්යයන් තුළින් ද සනාථ වී ඇත. එමගින් අපගේ උතුම් ම වන්දනාව උන් වහන්සේට පුද කරනු ලැබේ. හැකි සෑම විට ම දේවස්ථානයට පැමිණ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදකින්නේ ද එබැවිනි. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදැකීමේ තවත් පරමාර්ථ ඇත:

- දිව්‍ය සත්ප්‍රසාදයේ වැඩ සිටින ජීවමාන ජේසුස් වහන්සේට අපගේ වන්දනාව සහ ආදරය පුද කිරීමට
- යාච්ඤාව තුළින් උන් වහන්සේ හා ගැඹුරු සබඳතාවක් පවත්වා ගෙන යාමට
- අපගේ ආධ්‍යාත්මික හා ලෞකික අවශ්‍යතා ඉල්ලා ගැනීමට
- අපගේ ජීවිතයේ ජයග්‍රහණ හා දුක්වේදනා උන් වහන්සේ හමුවේ තැබීමට
- අපට ලැබුණා වූ සියලු දේව වරප්‍රසාදවලට තුති පිදීමට.

## දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදැකිය හැකි අවස්ථා

- හැකි සෑම අවස්ථාවක දීම
- දේවස්ථානයේ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ වැඩමවා ඇති විට

- දිව්‍ය සත්ප්‍රසාද වන්දනාව පවත්වන විට
- දේවස්ථානයක් අසලින් යන සැම අවස්ථාවක ම
- අපගේ අවශ්‍යතා උන් වහන්සේ හමුවේ තබන විට.

දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට අපගේ උතුම් ගෞරවය හා ආදරය පුද කිරීමට යොමු වන අප හැකි සැම විට ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදැකීමට ද උන් වහන්සේ තුළින් ආධ්‍යාත්මික නවෝදයක් ලබා ගැනීමට ද උනන්දු විය යුතු ය.

## දිව්‍ය සත්ප්‍රසාද පෙරහැර

දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට අපගේ වන්දනාව පුද කිරීමටත් උන් වහන්සේගේ ආශිර්වාදය ලබා ගැනීමටත් දිව්‍ය සත්ප්‍රසාද පෙරහැර පැවැත්වේ. දිව්‍ය සත්ප්‍රසාද පෙරහැර පැවැත්වීමේ තවත් අරමුණක් නම් උන් වහන්සේගේ ආශිර්වාදය අප ජීවත් වන ග්‍රාමයටත් එහි වැසියන්ටත් ලබා ගැනීම යි. මෙවන් උතුම් පරමාර්ථ මුල් කරගනිමින් පවත්වනු ලබන දිව්‍ය සත්ප්‍රසාද පෙරහැර සංවිධානය කිරීමට අප දායක විය යුතු ය. ඒ සඳහා පහත සඳහන් දෑ කළ හැකි ය:

- දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ රැගෙන වීදි සංචාරය කරනා රථය අලංකාර කිරීම
- ගීතිකා පුරුදුවීම්වලට දායක වීම
- දේවස්ථානය හා වීදි මාර්ගය අලංකාර ලෙස සකස් කිරීම.

දේවස්ථානයෙහි දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ කරඬුවෙහි වැඩම කර ඇති විට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට දෙදණ හා හිස නමා වන්දනා කළ යුතු ය.

දිව්‍ය සත්ප්‍රසාද පෙරහැරට සහභාගී වන අප

- පෙරහැරට පෙර පැවැත්වෙන දිව්‍ය පූජාවට හා ශුද්ධ වූ පැයකට සහභාගී වීමට
- පෙරහැරේ දී ගයන ගීතිකා හා යාච්ඤාවලට සහභාගි වීමට
- අනවශ්‍ය කතාබහෙන් වැළකීමට
- පිළිවෙළකට ගමන් කිරීමට (දෙදෙනා හෝ තිදෙනා බැගින්)
- සරල චාම් වස්ත්‍රයෙන් සැරසි සහභාගී වීමට සිත්හි තබා ගත යුතු ය.

අපගේ දෙව් මැඳුරේ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ වැඩම කර තිබෙන නිසා උන් වහන්සේට අගෞරවය වන පරිදි නොහැසිරිය යුතු ය. එබැවින්,

- දේවස්ථානය තුළ නිශ්ශබ්දතාව සුරැකීමට
- දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට දණ නමා නමස්කාර කිරීමට
- උන් වහන්සේ අභියස යාච්ඤාවෙහි සහ භාවනාවෙහි නිරත වීමට
- දේවස්ථානය ඇතුළත සංවර ලෙස ගමන් කිරීමට අප යොමුවිය යුතු ය.

**ක්‍රියාකාරකම**

1. කතෝලික අප දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදකිනා අවස්ථා **තුනක්** ලියන්න.
2. දිව්‍ය සත්ප්‍රසාද පෙරහැර සංවිධානයේ දී ඔබට දායක විය හැකි ආකාර **තුනක්** ලියන්න.
3. දෙව්මැඳුර තුළ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තැන්පත් කර ඇතිවිට හැසිරිය යුතු ආකාර **තුනක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

***දේවස්ථානයක් අබියසින් ගමන් ගන්නා සැම විටක දී ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදකිමු.***

25

# වන්දනා ගමන්

ප්‍රියාදර සැදැහැවතුනි,

මෙම වන්දනා ස්ථානයට ඔබ පැමිණියේ ආත්මික නවෝදය පතා ය. එබැවින්,

★ පවුලේ සැම සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලබා ගන්න.
★ දිව්‍ය පූජා යාගයට පූර්ණ ලෙස සහභාගි වී දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගන්න.
★ භක්ති අභ්‍යාසවලට නොවරදවා සහභාගී වන්න.
★ ආචාරශීලි වන්න.
★ මෙම ස්ථානයේ පොදු නීතිරීතිවලට අවනත වන්න.
★ සංවර ඇඳුමෙන් සැරසී සිටින්න.
★ පොදු සම්පත් අරපිරිමැස්මෙන් භාවිත කරන්න.
★ මත්පැන් භාවිතයෙන් හා විනෝද වීමෙන් වළකින්න.
★ අන් අය හා සහයෝගයෙන් කටයුතු කරන්න.
★ නව මිනිසෙක් ලෙස ඔබේ මීසම, ගම හා පවුල වෙත පිය නගන්න.

ඔබ සැමට ජේසු පිහිටයි!

සිද්ධස්ථාන පාලක පියතුමා

මෙම දන්වීම් පුවරුව වන්දනා ස්ථානයක ගෞරවණීය බව සුරකිමින් හැසිරිය යුතු ආකාරය පිළිබඳ ව සැදැහැවත් ජනතාව දනුවත් කරයි.

එදිනෙදා ජීවිතයේ දී තම අවශ්‍යතා, යුතුකම්, වගකීම් හා අභියෝග හමුවේ පීඩාවට පත් ව සිටින සැවොම, තම ආත්මික සුවය පතා වන්දනා ගමන්වල නිරත වේ. එවැනි වන්දනා ගමන් මෙලොව සිට ස්වර්ගීය ජීවිතය කරා අප යන වන්දනා ගමන සිහිපත් කරවයි. එමෙන් ම දෙවි සමිඳුන් තුළ ජීවිත නවෝදය ප්‍රාර්ථනා කරන සැමට යාච්ඤාව තුළින් එම අත්දැකීම අත්කරගන්නට හිමි වන සුවිශේෂී අවස්ථාවකි.

## වන්දනා ගමන්වල පරමාර්ථ

- ★ සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට පවුලක් හෝ සංඝයක් හෝ මීසමක් හෝ ලෙස වන්දනා කිරීමට
- ★ දෙවි සමිඳුන්ගෙන් ලද සැම වරප්‍රසාදයකට ම තුති පුද කිරීමට
- ★ තම ආත්මික හා ලෞකික අවශ්‍යතා දෙවිඳුන් හමුවේ තැබීමට
- ★ වන්දනා ස්ථාන දැක බලා ගැනීමට
- ★ එම ස්ථානයේ දී දෙවි පියාණන් වහන්සේගේ මහත් වූ ක්‍රියා තම ජීවිත අත්දැකීමක් කර ගැනීමට
- ★ යාච්ඤාව හා ආධ්‍යාත්මික ප්‍රබෝධය තුළින් නව ජීවිතයක් ආරම්භ කිරීමට.

## මරුද මඩු දේවමාතා සිද්ධස්ථානය




25.1 රූපය - මරුද මඩු සිද්ධස්ථානය



25.2 රූපය - මරුද මඩු දේව මාතාවෝ

ලන්දේසීන්ගේ පීඩනය මන්නාරම් ප්‍රදේශය වෙත එල්ල වීමත් සමග එහි ජීවත් වූ කතෝලික බැතිමතුන්ට දුෂ්කරතා රැසකට මුහුණ දීමට සිදු විය. තම විශ්වාස තුළ ජීවත් වූ කතෝලික පවුල් 20ක් ක්‍රි.ව. 1670 දී තමන් සතු සියල්ල අතහැර දමා කන්ද උඩරට රජතුමාගේ පාලන ප්‍රදේශයට ගියෝ ය. එසේ ඔවුන් යන ගමනේ දී "මාන්තෙයි" ගම්මානයේ දේවස්ථානයක තැන්පත්කර

තිබූ ආශ්චර්යමත් දේව මාතාවන්ගේ ප්‍රතිමාව ද රැගෙන ගියහ. "මරුද මඩු" නමින් හැඳින්වෙන ගම්මානයකට පැමිණි ඔවුන් තම විශ්වාසය තුළ යාච්ඤාවෙන් කල් යැවූහ. එම ප්‍රදේශයට යාපනයේ සිට පළා ආ 700ක පමණ සැදැහැවතුන් පිරිසක් අතර හෙලේනා නම් තරුණියක් සිටියා ය. ඇය මරුද මඩුහි රේගුපොළේ සේවය කළ මහනුවර රජුගේ ප්‍රධාන නිළධාරියා සමග විවාහ වූවා ය. ඔහුගේ සහාය ඇති ව "මඩු මාතාවන්" වෙනුවෙන් මරුද මඩු ග්‍රාමයේ දේවස්ථානයක් ඉදිකළා ය.

අනතුරු ව ශුද්ධ වූ ජුසේ වාස් පියතුමන්ගේත් ගරු පියවරුන්ගේත් අතිඋතුම් රාජගුරුප්‍රසාදීන් වහන්සේලාගේත් මූලිකත්වයෙන් "මරුද මඩු දේවමාතා" සිද්ධස්ථානය සංවර්ධනය වී අද පවතින තත්ත්වයට පත් ව ඇත.

## තලවිල සාන්ත ආනා සිද්ධස්ථානය



25.3 රූපය - තලවිල සාන්ත ආනා සිද්ධස්ථානය



25.4 රූපය - සාන්ත ආනා තුමිය

දහඅටවන සියවස අගභාගයේ දී යුරෝපීය වෙළෙන්දකුට අයත් නෞකාවක් තලවිල වෙරළ තීරයට ආසන්නයේ දී මුහුදුබත් විය. සාන්ත ආනා මුනිතුමියගේ ප්‍රතිමාවක් එම නෞකාවේ තිබී ඇත. අනපේක්ෂිත මොහොතක සිදු වූ මෙම සිදුවීමේ දී නැවේ සිටි පිරිස තම දිවි ගලවා දෙන ලෙස එතුමියට කන්නලව් කර ඇත. ඔවුන් නිරුපද්‍රිත ව ගොඩබිමට ළඟා වූ අතර එහි ඔවුනට සෙවනක් සඳහා තිබුණේ නුග ගසක් පමණි. එහි බෙනයක වෙළෙන්දා ශුද්ධ වූ ආනා මුනිතුමියගේ ප්‍රතිමාව තැන්පත් කළේ ය. වෙළෙන්දා එතැනින් නික්මයාමට

පෙර එතුමියට තවත් බාරයක් වුයේ ය. එනම්, තමාගේ වෙළෙඳාම සාර්ථක වුවහොත් නැවත පැමිණ එතුමිය නමින් දෙව්මැදුරක් ඉදිකිරීමට ය. අනතුරු ව ඔහු ගාල්ලට ගියේ ය. ඔහුගේ වෙළෙඳාම සාර්ථක විය. ඔහු නැවත පැමිණ බාරය ඉටු කරමින් ගොඩනැගූ දෙව්මැදුර අද තිබෙන තත්ත්වයට වර්ධනය වී ඇත්තේ ශුද්ධ වූ ආනා මුනිතුමියගේ මැදහත්කම තුළ සිදු වූ ප්‍රාතිහාර්ය කරණ කොට ගෙන ය.

## තේවත්ත ලංකා අප ස්වාමි දුවගේ බැසිලිකාව



25.5 රූපය - තේවත්ත ලංකා අප ස්වාමි දුවගේ බැසිලිකාව



25.6 රූපය - ලංකා අප ස්වාමි දුවගේ ප්‍රතිමාව

දෙවන ලෝක සංග්‍රාමයේ දී කොළඹට හා ත්‍රිකුණාමලයට ජපන් ජාතිකයන් විසින් බෝම්බ හෙළන ලදි. මෙම භයානක තත්ත්වයෙන් අප මව්බිම මුදවා දුනහොත් "ලංකා අප ස්වාමි දූ" නමින් බැසිලිකාවක් ඉදිකරනා බවට තේවත්තේ පැරණි දෙව්මැදුර අසල ඇති පැරණි ලූර්දු ගුහාව අබියස දී එවකට අගරදගුරු ව සිටි අතිඋතුම් ජෝන් මේරි මසොන් (නි.ම.නි.) හිමිපාණන් බාරයක් වී ඇත. එම විශේෂ ප්‍රාර්ථනය ඉටු වූ බැවින් ශුද්ධාසනයේ අවසරය ගෙන මෙම බැසිලිකාව එතුමාණන්ගේ අනුප්‍රාප්තිකයා වූ අගරදගුරු අතිඋතුම් තෝමස් කාදිනල් කුරේ හිමිපාණන් විසින් ගොඩනගන ලදි.

## මාතර ජයලත් අප ස්වාමිදූගේ සිද්ධස්ථානය



25.7 රූපය - මාතර ජයලත් අප ස්වාමිදූගේ සිද්ධස්ථානය



25.8 රූපය - මාතර මෑණියන්ගේ ප්‍රතිමාව

වැලිගම ප්‍රදේශයේ ධීවරයන් පිරිසකට හමු වූ "මාතර ජයලත් අප ස්වාමි දුවගේ" ප්‍රතිමාව ඇෂ් වුඩ් ලීයෙන් නිර්මාණය වූවකි. අඟල් 26ක් උස ය. සුරලොව රාජිණියගේ විලාසය පෙන්නුම් කරනා මෙම ප්‍රතිමාව ඔවුහු මාතර දේවස්ථානය භාර ගරු පියතුමා වෙත බාර දී ඇත. මෙම ප්‍රතිමාව වසර 400කට වඩා පැරණි යයි සැලකේ. 2004 වර්ෂයේ දී සුනාමි උදම් රළපහරට ද හසු වූ මෙම ප්‍රතිමාව නැවත නිරුපද්‍රිත ව හමු විය. හාස්කම් රැසක අත්දැකීම් අප වෙත ලබා දෙන මාතර අප ස්වාමි දුවගේ සිද්ධස්ථානයේ වාර්ෂික මංගල්‍යය දේවමාතාවන්ගේ උපන් මංගල්‍යය අළලා පවත්වනු ලබයි.

මෙම සිද්ධස්ථානය 1907 වර්ෂයේ දී ගරු ඒ. ක්ලොසෙට් (ජේසු නිකායික) පියතුමාගේ මූලිකත්වයෙන් ඉදි වූ බව සඳහන් වේ.

## ශුද්ධ වූ දේශය

ක්‍රිස්තුන් වහන්සේගේ උත්පත්තිය, ධර්මදූත සේවාව, දුක්විඳීම, කුරුසපත් වීම හා උත්ථානය මෙම භූමිය තුළ සිදුවීම නිසා ශුද්ධ වූ දේශය කතෝලික බැතිමතුන්ගේ වන්දනාමානයට පාත්‍ර වී ඇත.



25.9 රූපය - ශුද්ධ වූ දේශය

## පාදුවා



25.10 රූපය - පාදුවාහි බැසිලිකාව

ඉතාලියේ පාදුවා නගරයෙහි ප්‍රැන්සිස්කාන නිකායික ශුද්ධ වූ අන්තෝනි මුනිතුමන්ගේ ශුද්ධ වූ ධාතු මෙම බැසිලිකාවෙහි තැන්පත් කර ඇත. දේව වචනය අන් අය හා බෙදා ගැනීම සේ ම සත්‍යවාදී වීමේ ප්‍රතිඵලයක් ලෙස ශුද්ධ වූ අන්තෝනි මුනිතුමන්ගේ දිව තවමත් නොදිරා පවතී. නොදිරන ලද මෙම දිව ධාතුව කරඬුවක තබා මෙම බැසිලිකාවේ අල්තාරය පිටුපස මණ්ඩපයක තැන්පත් කර තිබේ. එමෙන් ම එතුමාගේ නිකට හා පහළ දත් ඇන්ද ද එතුමා භාවිත කළ තාපස ඇඳුම් ද ශරීරධාතු තැන්පත් කර තිබූ මිනීපෙට්ටිය ද මෙම බැසිලිකාවේ මහජන ගෞරවය සඳහා තබා ඇත. මෙම ශුද්ධ වූ වස්තු දැකබලා ගැනීමටත් එතුමාණන්ගේ මැදිහත්කම තුළ විශ්වාසයේ අත්දැකීම් ලබන්නටත් සුවිශාල බැතිමතුන් පිරිසක් ඉතාලියේ පාදුවා නගරයේ පිහිටි මෙම බැසිලිකා පුද බිමට නිරතුරු ව පැමිණෙති.

## ගෝව



25.11 රූපය - ගෝව නගරයේ බොම් ජේසු බැසිලිකාව

පුරාණ ගෝව නගරයේ පිහිටා ඇති "බොම් ජේසු" නම් බැසිලිකාවේ ශුද්ධ වූ ප්‍රැන්සිස් සේවියර් තුමන්ගේ නොදිරූ සිරුර තැන්පත් කර ඇත. එබැවින් මෙම ස්ථානය දැකබලා ගන්නට මෙන් ම ආත්මික නවෝදය පතා සැදැහැවත්හු මෙම ස්ථානය කරා පිය නගති.

ගෝව නගරය සැදැහැවතුන් අතර සුප්‍රසිද්ධ වීමට බලපෑ තවත් හේතුවක් නම් එය අප දේශයේ ධර්ම දූතයාණන් වූ ශුද්ධ වූ ජුසේ වාස් පියතුමාණන්ගේ නිජ බිම වීම ය.

මෙලෙස කිතුනු අපගේ වන්දනාමානයට පාත්‍රවන සිද්ධස්ථාන රැසක් දෙස් විදෙස් රටවල පවතියි. අපගේ ආත්මික සුවය පතා යදින්නට, දෙවිඳුන්ගේ මහත් ක්‍රියා අත්දකින්නට අප පියමං කරනා මෙම සිද්ධස්ථානවල ගෞරවය ආරක්ෂා වන සේ ක්‍රියාකිරීමට අප උනන්දු විය යුතු ය. එය අපගේ යුතුකමක් ද වන්නේ ය.

**ක්‍රියාකාරකම**

1. වන්දනා ස්ථානයක් කරා යාමේ පරමාර්ථ **තුනක්** නම් කරන්න.
2. වන්දනා ස්ථානයක පූජනීය බව සුරැකීමට අපට කළ හැකි ක්‍රියා **හතරක්** ලියා දක්වන්න.
3. ශුද්ධ වූ දේශය, පාදුවා හා ගෝව යන නගර කිතුනු අපගේ වන්දනාවට ලක්වන එක් හේතුව බැගින් දක්වන්න.



**ජීවිතයට බිඳක්**

***විනෝදය සඳහා නොව ආත්මික නවෝදය සඳහා වන්දනා ස්ථාන කරා පියනගන්න.***